සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2561 ක් වූ නවම් මස (ව්‍යවහාරික වර්ෂ 2018 පෙබරවාරි)

77 වෙනි කලාපය



## සසර බියකරු බව වටහා ගැනීමට බුදු රදුන්ටත් කර්ම විපාක එල දුන් අයුරු...

රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# මනු ලොව ඉපදී...

තමන් ලෙස අනුන්ටද සළකන නිබඳ
නිරන් තර ගුණෝන් යුතු ලෙන්ගතු සුහද
නිවන් මග සොඳින් දැන නොකරන වරද
පහන් සිත් සතන් ඇති උවසුවෝ සැරද

ඉසි කෝ මද මාන අව ගති ගුණ සතුව
අසි පත් දරුණු ගිනි අවි වුව අත ඇතුව
කිසි වෙකු හට වුවද නිසි ගරු සරු නැතුව
දුසි රිත වඩන අය වෙති පවටම නතුව

වෙනසක් මෙබඳු කිම මිනිසෙකු විලස ලද
හුරුවක් නිසයි පෙර සසරෙහි විසුව සඳ
බලුවෙක් තිරිසනෙක් වැනි අත් බවෙක හිඳ
උපතක් ලද වගයි අද මනු සතෙකු ලෙද

පව පින නොහඳුනන වරදෙහි බැඳුන නිතී
අපමණ දනා ඇති අනුවණ අමන ගතී
වනසන විටදි රට වී මුදලටම ගැතී
අසරණ වෙයි රටම නැති බැරි කමෙහි එතී

සසරෙහි කළ පිනක් ලෙස පෙර භවයක දී
මෙලොවෙහි උපත ලද කළ එම පින පල දී
දහමෙහි ඇසුර ලද යුතු මනු ලොව ඉප දී
නිරයෙහි නොම වැටෙනු යළි නොකරනු වැර දී

ලද මිනිසත් බවෙහි මහිමය අගය දැන
ඇද හිය යුතුය බුදු බණ තෙරුවනෙහි ගුණ
මඳ කුදු පමා නොමවනු එම කරුණු ගැන
විඳ ගත හැක එවිට භව දුක නසන පින

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# අසූ හාර දහසක් ධර්මස්කන්ධය තුලින් එකම නිවනට පැමිණිය හැක.



ඒක්තරා ක්‍රමවේදයන්ගෙන් යම් පමණකට හෝ අත්දැකීම් තියෙන, ධර්මානුකූලව හරය හොයන පින්වතුන්ගේ යහපත පිණිසයි මේ විස්තරය ඉදිරිපත් කරන්නෙ. පළමුව මේ උපමාව තෝරගන්න බලන්න.

විසාල රටක මධ්‍ය ලක්ෂ්‍යය එක තැනක්. මේ මධ්‍ය ලක්ෂ්‍යය වට කරගෙන හතර දිසාවෙන්ම ප්‍රධාන නගරයට ඇතුල් වන මාර්ග 4 ක් තියෙනවා. මේ මාර්ග 4 විවිධාකාර විදිහට බෙදෙමින් තියෙන තවත් ඉතා කුඩා මාර්ගවලට සම්බන්ධ වෙලා තියෙනවා. මේ ඉතා කුඩා හැම මාර්ගයක්ම එක එක ගෙයක් සඳහා සම්බන්ධ වෙලා තියෙනවා. මෙබඳු රටේ ගෙවල් අසූ හාර දහසක් තියෙනවා. මේ හැම ගෙදරකම වාසය කරන කෙනෙකුට අවශ්‍ය නම් තමන්ගෙ ගෙදර ඉඳන් වැටිල තියෙන මාර්ගයෙන් ගමන ආරම්භ කරල, තව තවත් ගෙවල්වලින් එන අයත් මුණ ගැහෙන ලොකු මාර්ගවලට එකතු වෙන්න පුළුවන්. ඒ ඒ මාර්ගයෙන් එන අය ඒ ලොකු මාර්ගය දිගේ එනකොට තව තවත් අය ඒ විදිහටම හමුවන ඊටත් වඩා ලොකු මාර්ග හමුවෙනවා.

මේ විදිහට හැමදෙනාම රට මැදට එන මාර්ගය දැනගෙන ආවොත්, මහා මාර්ග 4 ට ගෙවල් අසූ හාර දාහෙම පිරිස එන්න පුළුවන්. නගරයට සම්බන්ධ මේ මොන මාර්ගයෙන් ආවත් අන්තිමට සියල්ලෝම ඇවිත් තියෙන්නෙ එකම නගරයට. ඒ නගර මධ්‍යයේ වැඩ ඉන්නෙ බුදු පියාණන් වහන්සේ නම්, හැම දෙනාම මධ්‍යය බලනකොට දකින්නෙ උන්වහන්සේ. සම්මා සම්බුද්ධ කියන්නෙ ඒ බුදු පියාණන් වහන්සේ. උන්වහන්සේව දක්ක නම් තමන් ආපු මාර්ගය හෙවත් දහම් මග ස්වාක්ඛාතයි. තමන් වගේම එතැනට ආපු සියල්ලෝම නියම ආකාරයෙන් නගරයට පැමිණි සුපටිපන්නයෝ වෙනවා. මේ දහම් රටාව වැටහෙන්නෙ නැති බොහෝ පිරිස්, ඔබ වැරදියි මමයි හරි කියන ආකල්පය දරන අය.

අසූ හාර දාහක් ධර්මස්කන්ධය කියන්නෙ ගෙවල් අසූ හාර දහසින් ආරම්භ වන කුඩා පාරවල් අසූ හාර දාහ. තමන්ගෙ ගෙදරින් ආරම්භ වන මාර්ගය අවසානය දක්වා දකින්න තියෙන ඇස් වර්ග 3 ක් තියෙනවා. මේ තුනෙන් එක ඇසක් පළමුව පහල විය යුතුයි. සබ්බේ සංඛාරා අනිච්චාති කියන්නෙ මේ එක ඇසක්. සබ්බේ සංඛාර දුක්ඛාති කියන්නෙ තවත් ඇසක්. සබ්බේ ධම්මා අනත්තාති කියන්නෙ ඊළඟ ඇස.

තම තමන් නුවණ පිහිටවපු ක්‍රමවේදය අනුව මේ ඇස් තුනෙන් එකක් බණ අහන මොහොතක පහල වෙනවා. එතැන් පටන් මාර්ගය දකින ඉන්ද්‍රිය ධර්ම 5 ක් තියෙනවා. එයින් ශ්‍රද්ධා ඉන්ද්‍රිය බලවත් නම්, බණ අහනකොට ඉහත ඇස් තුනෙන් තමන්ට ගැලපෙන ඇසක් පහල වෙලා ඒ පුද්ගලයට මෙබඳු අදහසක් පහල වෙනවා. "මේ දේශකයන් වහන්සේ කියපු දෙය බොරුවක් නෙවෙයි. දකින කාරණා කිහිපය තුලින් මේ මුළු ලෝකයම ඒ විදිහෙ බව වැටහෙනවා." මේ විදිහට තමන්ට පහල වෙච්ච ඇස අනුව මුළු ලෝකයම අනිච්ච වශයෙන් හෝ දුක්ඛ වශයෙන් හෝ අනත්ත වශයෙන් හෝ විය යුතු බව සහතික ලෙසම පිළිගන්නවා. මට එබඳු සැරිසැරීමෙන් ලැබෙන තිසි වූ දෙයක් නෑ කියන්නෙ, අනිච්ච ඇස පහල වෙච්ච අය දකින ආකාරය. මට මෙබඳු ලෝකය සැපයි කියල නිගමනය කරන්න වටින දෙයක් නෑ කියන්නෙ, දුක දකින ඇස පහල වෙනකොට වැටහෙන ආකාරය. මට මුළු ලෝකයේම සාරවත් කියල ගන්න දෙයක් නෑ කියන්නෙ, අනත්ත ඇස පහල වුනාම දකින ආකාරය. විස්වාසයම අග්‍ර කරගෙන මේ නිගමනයට බහින්නෙ ශ්‍රද්ධා ඉන්ද්‍රිය බලවත් අය. මේ අයට කියන්නෙ සද්ධානුසාරී කියල. වැඩෙනකොට ශ්‍රද්ධා විමුක්ත බවින් යුතුව මාර්ගය පූර්ණ කරගන්නවා.

වීර්ය ඉන්ද්‍රිය බලවත් පිරිස ඉහත කිව්ව විදිහට දැනීම හෙවත් දහම් ඇස පහල කරගත්තත්, විස්වාසයෙන් විතරක් සෑහීමට පත්වෙන්නෙ නෑ. නොයෙක් විදිහට විමර්ශනය කරමින්, ඒක එහෙම වෙන්නෙ කොහොමද කියල උත්සාහයෙන් වීර්යෙන් විමර්ශනය කරන ගමන්ම සත්‍ය නිගමනයට බහිනවා. තවත් පිරිසක් ධර්ම ශ්‍රවණයේදී තමන්ට ලැබුන ඇසකින් ලෝකයේ තතු දැකගන්න හිතල තමන් විසින් කරන කාය කර්ම, වචී කර්ම, මනෝ කර්ම අනුව පහල වන සිත්, ලෝක ස්වභාවය දැකපු දහම් ක්‍රමය තුලින් දකිමින් අවබෝධය පූර්ණ කරගන්නවා. ඒ තමයි සති ඉන්ද්‍රිය බලවත් අය.

තව පිරිසක් තමන්ට පහල වුන දහම් ඇසින් ලෝකයේ තතු හිතල, චිත්ත ඒකාග්‍රතාවයේ ශාන්තියට හිත පිහිටුවාගෙන, ඒකෙ ධ්‍යාන අංගත් තමන්ගෙ දහම් ඇස අනුව විමර්ශනය



# චෛතිය පූජාවේ අනුසස්...

**02 කොටස**

තථාගතයන් වහන්සේ නමකට කරන සුළු පූජාවක පවා අනුසස් අපමණයි. ඒ බව ධම්ම පදයේ බුද්ධ වර්ගයේ එන මේ ගාථාවල සඳහන් වෙනවා.

පූජාරහේ පූජයතෝ
බුද්ධේ යදිව සාවකේ
පපංච සමතික්කන්තේ
තිණ්ණ සෝක පරිද්දවේ
තේ තාදිසේ පූජයතෝ
නිබ්බුතේ අකුතෝ භයේ
න සක්කා පුඤ්ඤං සංඛාතුං
ඉමෙත්තමිති කේනචී

තථාගතයන් වහන්සේ බොහෝ භික්ෂූන් පිරිවරාගෙන බරණැස නුවරට වැඩම කරන අතරමගදී, තෝදෙය්‍ය කියන බ්‍රාහ්මණ ගමකට වැඩල ඒ ගමේ තිබ්ච්ච එක දේවාලයක් ළඟ වැඩ සිටියා. ඒ මොහොතේ ටිකක් දුරින් සී සාමින් හිටපු බමුණෙක් දැකල, ඒ බමුණාට එන්න කියන්න කියල ආනන්ද හාමුදුරුවො පිටත් කර යැව්වා. ඒ බමුණා එතන තිබ්ච්ච දේවාලයට වැඳල, තථාගතයන් වහන්සේ ළඟට ඇවිත් ගරු බුහුමන් දක්වල පසෙකින් ඉඳ ගත්තා. එතනදි තථාගතයන් වහන්සේ, ඔබ මේ දේවාලයට වැන්දෙ කුමක් නිසාද කියල

---

කරල ඒකෙන් මිදිල නිවන් අවබෝධය පූර්ණ කරගන්නවා. ඒ තමයි සමාධි ඉන්ද්‍රිය බලවත් අය. තව පිරිසක් මූලික දහම අහල තමන්ට පහල වුන අනිච්ච හෝ දුක්ඛ හෝ අනත්ත හෝ ස්වභාවය මුල් කරගෙන ලැබෙන දහම් ඇසින්, ලෝකයේ සියල්ල හේතු නිසා පහල වන ආකාරයත්, හේතු නිරෝධයෙන් නිරෝධ වන ආකාරයත් විමසමින් ප්‍රඥා මූලිකව යථාවබෝධය හෙවත් නිවන පූර්ණ කරගන්නවා.

මේ මොන ක්‍රමයෙන් හෝ ලැබෙන්නෙ යථාවබෝධය. ඒ තුලින් හැමදෙනාටම ලැබෙන ප්‍රතිඵලය රාගක්ෂය, ද්වේශක්ෂය, මෝහක්ෂය. යම් තරමකට රාග, ද්වේශ, මෝහ ක්ෂය වෙනවද, ඒ තරමට කායික ක්‍රියා ඒ පාප ස්වභාවයෙන් වෙන් වෙනවා. වචනයත් හිතත් සංවර වෙමින් ලෝභ, ද්වේශ, මෝහ චෛතසිකවලින් වෙන් වෙනවා. මේ තමයි හැමෝටම පොදු නිවන් මග.

ඉතින් තමන්ට ලැබුන ඇස අනුව, මාර්ගය දැකපු පින්වතුන් සසර ගොඩ නගා ගත්ත ආයුස, වර්ණ, සැප, බල, පටිභාන නුවණ අනුව ඉක්මන් ගමනට ආර්ය වාහනය ලැබෙනවා. මධ්‍ය නගරයට යන්න වාහන නැති අය බොහොම හෙමින් පයින් ගමන් කරනවා. පාපැදියක් තියෙන අය ඒක පැදගෙන ගිහින් නගරයට යනවා. යතුරු පැදි තියෙන අය ලැබෙන මට්ටමේ පහසුව පරිදි ගමන යනවා. ලොකු සුඛෝපභෝගී රථ වාහන තියෙන අය ඒවායින් පහසුවෙන් යනවා. හෙලිකොප්ටර් තියෙන අය ඉක්මනිනුත් වේගයෙනුත් යනවා. අහස් යානා, ජෙට් යානා වගේ උපරිම ගමන් පහසුව තියෙන අය මොහොතකින් පහසුවෙන් යනවා. ගමනේ වේගය මේ විදිහට විවිධ වුනත්, මොන වාහනයෙන් හෝ පයින් හෝ ගියත් මාර්ගය දකපු අය යන්නෙ එකම නගරයට. දකින්නෙ මධ්‍යයේ තියෙන බුද්ධ ප්‍රතිමාවමයි.

දැන් මේ කියපු උපමා තේරුම් ගන්න ඕන.

1 වන උපමාව - පයින් ගමන් කරන්නෙ සත්තක්ඛත්තු පරම කියන සෝතාපන්න පිරිස

2 වන උපමාව - පාපැදියෙන් ගමන් කරන්නෙ කෝලංකෝල කියන සෝතාපන්න පිරිස

3 වන උපමාව - යතුරු පැදියෙන් ගමන් කරන්නෙ ඒකබීජී කියන සෝතාපන්න පිරිස

4 වන උපමාව - සාමාන්‍ය කාර් රථයෙන් ගමන් කරන්නෙ සකෘදගාමි පිරිස

5 වන උපමාව - සුඛෝපභෝගී කාර් රථයෙන් ගමන් කරන්නෙ අනාගාමි පිරිස

6 වන උපමාව - හෙලිකොප්ටරයෙන් ගමන් කරන්නෙ ප්‍රඥා විමුක්ත අරිහතුන් වහන්සේලා

7 වන උපමාව - ගුවන් යානයෙන් ගමන් කරන්නෙ අභිඥාලාභී අරිහතුන් වහන්සේලා

8 වන උපමාව - ජෙට් යානයෙන් ගමන් කරන්නෙ සිවුපිළිසිඹියාපත් අරිහතුන් වහන්සේලා

දැන් මේ උපමා තෝරගන්න බැරි, ඒ වගේම මඩ ගහන්න බලාගෙන ඉන්න අය "බයිසිකල්වලින්, කාර්වලින් නිවනට යන්න පුළුවන්ලු, මේවා අමුතු බණ" කියල පහර ගහන්න පුළුවන්. නමුත් ඒවං උපසංහරති - මෙසේ උපමා සංසන්දනය කරල බලන්න කියන බුද්ධ දේශනාව අනුව, මේ කාලයට ගැලපෙන උපමා පෙන්නුවේ, සසරේ පුරුදු නොයෙක් මට්ටමේ පාරමිතාවන් පෙන්වන්න.

*පූජ්‍යපාද වෑහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

ඇහුවම, මේ දේවාලය ඉතා පැරණියි, අපේ පරපුරේ සියලු දෙනාම වඳින පුදන තැනක් නිසා අපිත් ඒ සිරිත කඩ නොකර පවත්වාගෙන එන බව බමුණා දන්වා සිටියා.

එතකොට තථාගතයන් වහන්සේ, බ්‍රාහ්මණයා මේ ස්ථානයට වැඳීම පිදීම, ගරු බුහුමන් දැක්වීම ඉතා වටිනා දෙයක්, පෙර කාශ්‍යප බුදු රජාණන් වහන්සේගේ ධාතු නිදන් කරපු රන් දාගැබක් පිහිටියේ මේ ස්ථානයේ කියල අතීත කතාව ගෙනහැර දැක්වුවා. මේ කාරණය නිමිති කරගෙන තථාගතයන් වහන්සේ ඉහත ගාථා දේශනා කළා.

"පපංච සමතික්කන්තේ" බුද්ධාදී උතුමන් වහන්සේලා සියලු පපංච (තණ්හා - මාන - දිට්ඨි) ධර්ම ඉක්මවල "තිණ්ණ සෝක පරිද්දවේ" සියලු සෝක පරිදේවයන්ගෙන් එතෙර වෙලා "නිබ්බුතේ අකුතෝ භයේ" කෙලෙසුන්ගෙන් නිවිල නිර්භයව වාසය කරන නිසා "පූජාරහේ පූජයතේ" දෙව් මිනිස් ආදී සියලු දෙනාගේ වන්දනාමාන පුද සත්කාරවලට සුදුසුයි. "න සක්කා පුඤ්ඤං සංඛාතුං ඉමෙත්තමිති කේනචී" ඒ වගේ **උතුමන්ට කරන පූජාවකින්, වන්දනාවකින්, චිත්ත ප්‍රබෝධ ප්‍රසාද මාත්‍රයකින් පවා ලැබෙන පින මෙපමණයි කියල සීමා කරන්න බෑ. ඒ තරමම ලෞකික සැප වගේම ලෝකෝත්තර නිවනටත් උපනිශ්‍රය ලැබෙන්න හේතු වෙනවා.**

ගෞතම බුදු සසුනේ වැඩ හිටපු මහ රහතන් වහන්සේලා, අතීත බුද්ධ සාසනවල ස්තූප සැකසීම හා ඒවාට සිදු කළ වන්දනා මාන පූජා සත්කාර හේතුවෙන්, සසරෙදි බොහෝ ලෞකික සැප සම්පත් විඳල සසර දුක් නිමා කරගන්න ඒ කාරණය උපනිශ්‍රය වූ හැටිත් අපදාන පාළියේ කතා පුවත්වලින් විස්තර වෙනවා.

## උපවාන ථේරාපදානය

පදුමුත්තර බුදුන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ මහජනයා එකතු වෙලා සඳුන් දර සෑයක් හැදුවා. ඒ සෑයේ තථාගත ශ්‍රී දේහය ආදාහනය කළා. ඒකෙන් ගත්ත සර්වඥ ධාතු නිදන් කරල මිනිස්සු එකතු වෙලා සෑයක් හැදුවා. ඒකෙ පළමු නිම් වළල්ල රත්තරන්. දෙවැන්න මැණික්. තුන්වැන්න රිදී. හතරවැන්න පළිඟු. පස්වැන්න පද්මරාග. හයවැන්න මැසිරිගල් කියන මැණික් විශේෂයක්. වේදිකාවත් සෑයත් ස්වර්ණමයයි. යොදුනක් උසයි. එතකොට දේවතාවන් රැස්වෙලා, අපිත් මේ සෑයට වැස්මක් කරමු කියල කතා කරගෙන, සත් රුවනින් හදල තිබුන සෑය තවත් යොදුනක් වැඩි කළා. දැන් සෑයෙ උස යොදුන් දෙකක්. ඒකෙ ආලෝකයෙන් අවට අඳුරත් දුරු වෙලා ගියා.

ඊළඟට නාග ලෝකයේ නාගයොත් එක්රැස් වෙලා, මිනිසුන් දෙවියන් එකතු වෙලා සෑයක් හැදුවා, අපිත් සෑයක් කරමු කියල, ඉඳුනිල් - මහනිල් - ජෝති - රස කියන මැණික් එකතු කරල සෑය වැහුවා. එතකොට යොදුන් තුනක් උස සෑයක් බවට පත් වුනා.

ඊළඟට ගුරුලොත් එකතු වෙලා, දෙව් මිනිස් නාග මේ අය එකතු වෙලා සෑයක් හැදුවා, අපිත් සෑයක් හදමු කියල රත්තරනින් කඤ්චුකයක් / වැස්මක් හැදුවා. දැන් සෑය තවත් යොදුනක් ඉස්සිලා යොදුන් 4 ක් උස් වුනා. සූර්යා වගේ සියලු දිසා ආලෝක කරන සෑයක් බවට පත් වුනා.

මේ විදිහට කුම්භාණ්ඩයොත් (දිව්‍ය විශේෂයක්) තවත් යොදුනක් උසට සෑය හදල පස් යොදුනක් උස චෛතියක් බවට පත් කළා. කුම්භාණ්ඩයින් සෑය උස් කෙරුවෙ මැණික්වලින්. ඊළඟට යක්ෂයොත් (යසස් ඇති) එක්රැස් වෙලා කතිකා කරගෙන පළිඟුවලින් ඒ චෛතියම හය යොදුන් උසට හැදුවා. ගාන්ධර්වයොත් වේදිකා 7 ක් විදිහට ඡත්‍රයක් නගල චෛතිය ස්වර්ණමය බවට පත් කළා. අන්තිමට රාත්‍රී දහවල් නොදැනෙන තරමට හැම වෙලාවෙම ආලෝකයෙන් බබලන චෛතියක් බවට පත් වුනා. තාරකා සහිත චන්ද්‍ර සූර්යන්ටත් චෛතියේ ආලෝකය මර්දනය කරන්න බැරි වුනා. හාත්පස සියක් යොදුන් දුර පහනක්වත් දල්වන්න අවශ්‍ය වුනේ නෑ.

යම් මනුස්සයෙක් සෑයට යමක් පූජා කරනකොට, ඔහු සෑයට නගින්නෙ නැතිව අහසේ උඩට දමනවා. එතකොට දෙවියන් විසින් නවත්වල හිටපු "අභි සම්මත" කියන යක්ෂයා ඒ පූජා භාණ්ඩ අරගෙන සෑය මුදුනේ ගිහින් තියනවා. මිනිස්සු ඒ යක්ෂයව දකින්නෙ නෑ. ඒක ගෙනියන යක්ෂයගෙ මල්දම විතරක් දකිනවා. මේ විදිහට දැකල හිත පහද-ගෙන සියලු දෙනා සුගතිගාමී වෙනවා.

සසුනට පැහැදීමක් නැති අයත්, පැහැදුන අයත් සියලු දෙනාම ප්‍රාති-හාර්ය දකින්න සෑයට මල්දම් ආදිය පූජා කරනවා. උපමාන තෙරුන් වහන්සේ ඒ කාලයේ හංසවතී නුවර දුගියෙක් වෙලා ඉන්නකොට, සෑයට පූජෝපහාර කරන මිනිස්සු දැකල, තථාගතයන් වහන්සේගේ ධාතූන් වහන්සේලාට මෙච්චර ගෞරවයක් දක්වනව නම් උන්වහන්සේ කොච්චර ශ්‍රේෂ්ඨ උත්තමයෙක්ද කියල, මමත් ධාතු සෑයට පූජාවක් කරල අනාගතයේ තථාගත ධර්මයේ කොටස් කාරයෙක් වෙන්න ඕන කියල අධිෂ්ඨාන කරගත්තා.

මේ දුගියා තමන්ගෙ උතුරු සළුව රෙදි සෝදන කෙනෙක් ලවා පිරිසිදු කරවගෙන, ඒක උණ දණ්ඩක අග එල්ලල කොඩියක් කරල ආකාසෙ තිව්වා. ඒ වෙලාවෙ අභිසම්මත කියන යක්ෂයා, ඒ කොඩිය අරගෙන අහසෙ එල්ලුවා. වාතයෙන් සෙලවෙන කොඩිය දැකල දුගියා මහත්සේ ප්‍රීතියට පත් වුනා. ඒකෙන් සිත පහදගෙන භික්ෂුවක් වෙතට ගිහින් මේ කොඩි පූජාවේ ආනිසංස විමසුවා. එතකොට ඒ භික්ෂුව සෑයට කොඩිය පූජා කළ විපාකය මේ විදිහට ප්‍රකාශ කළා.

ඇත්, අස්, රිය, පාබල සේනාවෝ ඔබට නිතර පිරිවර වෙනවා. හැට දාහක් තූර්යෝත්, අලංකාර බෙරත් පිරිවර වෙනවා. අසූ දහසක් මනහර කාන්තාවෝ ඔබට පරිවාර වෙනවා. කල්ප තිස් දහසක් කල් අසූ වාරයක් සක්‍ර පදවිය ලබනවා. දහස් වරක් සක්විති රජ වෙනවා. ප්‍රදේශ රාජ්‍යය සම්පත් ගණනින් කියන්න බෑ. කල්ප ලක්ෂයක් මතු ගෞතම නමින් බුදු කෙනෙක් උපදිනවා. ඒ කාලෙ දෙව් ලොවින් චුත වෙලා මිනිස් ලොව බ්‍රාහ්මණ කුලයක උපදිනවා.

අසූ කෝටියක් ධනය සහ කම්කරුවන් හැර දමල ගෞතම බුදු සසුනේ පැවිදි වෙනවා. ගෞතම බුදු රජුන් සතුටු කරල උපවාන නමින් ශ්‍රාවකයෙක් වෙනවා. කල්ප ලක්ෂයකට පෙර කරන ලද ධජ පූජාවේ කුසල බලයෙන් හීයක වේගයෙන් කෙළෙස් දැවී යනවා. සතර මහා දිවයිනට අධිපති රජ වෙලා නිරන්තරයෙන් ධජ පිරිවර කොට පවතිනවා.

එදා කරගත්ත පිනෙන් දුගතියක ඉපදුනේ නෑ. ගෞතම බුදු සසුනේ සිවුපිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව අරහත්වයට පත් වුනා.

## මහා කාශ්‍යප ථේරාපදානය

පදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ පරිනිර්වාණයෙන් අනතුරුව දෙව් මිනිසුන් එකතු වෙලා පූජා පැවැත්වුවා. මහජනයා ඒ වෙලාවෙ පූජා පවත්වල සංවේගයට පත්වෙලා හිටියා. මම

නම් ප්‍රීතියට පත් වුනා. සියලු ඥාති මිත්‍රාදීන් කැඳවල තථාගතයන් වහන්සේ උදෙසා පූජාවක් කරන්න කතා කරගත්තා. හැම දෙනාම සතුටු වෙලා විසාල පිනක් කරගමු කියල, රියන් 100 ක් උසට තොරණක් බැඳල රියන් 150 ක් පළල විමනක් කෙරෙව්වා. ඒකෙ තල්ගස් හිටවල ප්‍රාසාදයක් හදල චෛතිය පූජාවක් කළා.

දැල්වෙන ගිනි කඳක් වගේ චෛතිය අහසේ බබලනවා. මේ විදිහට බොහෝ පිං කරල තව්තිසා දෙව්ලොව ඉපදුනා. දහසක් අසුන් යොදවපු දෙව් විමනක් පහල වුනා. ඒකට නැග්ගට පස්සෙ සත් භූමියක් උඩට නැග්ගා වගේ දහස් ගණන් රනින් කරන ලද කූඨාගාරවල දීප්තියෙන් සතර දිසාව බබලන්න පටන් ගත්තා. දිව්‍ය ප්‍රාසාදයේ ආලෝකය අධික වුනා. මම සියලු දෙවියන් අභිබවා හිටියා. මේ තමයි චෛත්‍ය පූජාවේ විපාකයක හැටි.

කල්ප හැටදාහක් "උබ්බිද්ධ" නම් ක්ෂත්‍රියෙක් වෙලා සතර මහා සාගරය, සිවු මහා දිවයින කෙළවර කොට ඇති මහ පොළොවට අධිපති වෙලා සතුරු රජවරු ජය ගත්තා. ඒ වගේම භද්‍ර කල්පයේ තිස් වරක් මහත් බල ඇති සක්විති රජ වුනා. එතකොට මට දිගින් 24 රියන්, පළලින් 12 රියන් ඉන්ද්‍රකීලයක් වගේ භවනක් පුණ්‍ය ඍද්ධියට පහල වුනා.

විසාල ප්‍රාකාර, තොරණ තියෙන දිගින් යොදුන් 500 ක්, පළලින් ඉන් අඩකින් යුක්ත තව්තිසා දෙවියන්ගෙ දෙව්පුරය වගේ ජනයාගෙන් ගැවසී ගත්ත රම්මක කියල නගරයක් තිබුනා. ඉදිකටු ගුලාවක එකින් එක ඉදිකටු ගැටී හිටින්න වගේ රම්මක නුවර සිවුරඟ සේනාවෙන් පිරිල හිටියා. මේ විදිහට නොයෙක් සැප විඳල මරණින් පස්සෙ දෙව්ලොව ඉපදුනා. මේ විදිහට සසර බොහෝ සැප සම්පත් ලබල ගෞතම බුදු සසුනේ පැවිදි වෙලා සියලු කෙලෙස් ප්‍රහීණ කරල සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව අරිහත් ඵලයට පත් වුනා.

## මහා කච්චායන ථේරාපදානය

පදුමුත්තර සම්බුදු රජාණන් වහන්සේ වෙනුවෙන් පූජා කළ පදුම කියල චෛත්‍යයක් තිබුනා. ඒ සඳහා ගල් ආසනයක් හදල රත්තරන් ආලේප කළා. ස්වර්ණමය ඡත්‍රයකුත්, චාමරයකුත් නගා සිටෙව්වා. ඒ වෙලාවෙ භූමිය ඇසුරු කළ යම් තාක් දේවතාවො හිටිය නම්, ඒ සියලු දෙනා



තථාගතයන් වහන්සේ උදෙසා කරපු ස්වර්ණමය පූජාවේ ආනිසංස අහන්න එක් රැස් වුනා. බුදු පියාණන් වහන්සේ රනින් ආලේප කරපු ඒ ආසනයේ වැඩ හිඳගෙන මේ විදිහට විස්තරයක් කළා.

යමෙක් විසින් රන් රුවනින් කරපු මේ ආසන පූජාවේ ආනිසංස ප්‍රකාශ කරනවා. හොඳින් අහගන්න. කල්ප 30 ක් මුළුල්ලේ සක්දෙව් රජව ඉපදිලා හාත්පස යොදුන් 100 ක් පමණ ප්‍රමාණයක් කරගත්ත පුණ්‍ය තේජස නිසා බබලනවා. මිනිස් ලෝකයට ඇවිත් මහා තේජස් තියෙන "ප්‍රභාස්වර" කියන සක්විති රජ කෙනෙක් වෙනවා. සූර්යා වගේ රෑ දවල් දෙකේම හැම තැනම රියන් 8 ක් පමණ බබලවනවා.

කරන ලද කුසල බලයෙන් ගෞතම බුදුන් දවස කච්චායන නම් බමුණෙක් වෙලා උපදිනවා. සියලු සම්පත් අත්හැරල සාසනයේ පැවිදි වෙලා අසූමහ ශ්‍රාවකයන්ගෙන් කෙනෙක් වෙනවා. කෙටියෙන් කියපු ධර්ම කාරණයක් විස්තර කරන්න පුළුවන් භික්ෂූන් අතර අග්‍රස්ථානයට පත්වෙනවා. සිවුපිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව අරිහත්වයට පත්වෙලා සසර දුක් නිමා කරනවා. පදුමුත්තර බුදු රජුන්ගේ චෛතියට ආසනයක් පූජා කිරීමේ විපාක මේ විදිහට විස්තර කළා.

## පුන්නාග පුප්ඵිය ථේරාපදානය

වැද්දෙක් වෙලා හිටපු මම මහ වනයේ ඉන්නකොට, පිපුනු මල් ඇති දොඹ ගහක් දැකල බුදුන් වහන්සේ සිහිපත් කළා. සුවඳ හමන මල් නෙලල වැල්ලෙ මල් සෑයක් හදල බුදුන්ට පූජා කළා. 92 වෙනි කල්පයේ ඒ කරපු පිනෙන් දුගතියකට ගියේ නෑ. මෙයින් 91 වන කල්පයේ සක්විති රජ සම්පත් ලැබුවා. ගෞතම බුදු සසුනේ පැවිදි වෙලා සිවුපිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා ලබල භව ගමන නිමා කරගත්තා.

## ඛණ්ඩ ඵුල්ලිය ථේරාපදානය

ඵුස්ස කියන බුදු රජාණන් වහන්සේගේ ධාතු නිදන් කරල හදපු චෛත්‍යය ඇතුන් විසින් බින්දා. ඒකෙ ගස් කොළන් වැවිල තියෙනකොට චෛත්‍යය පිළිසකර කරල හුණු ගෑවා. මෙයින් කල්ප 92 කට පෙර සිද්ධ කරගත්ත පිනෙන් දුගතියක ඉපදුනේ නෑ. 77 වෙනි කල්පයේ සත් රුවනින් යුක්ත මහත් බල ඇති "ජිතසේන" නමින් 16 වරක් සක්විති රජ සම්පත් ලැබුවා. ගෞතම බුදු සසුනේ මහණ වෙලා සිවුපිළිසිඹියා, අෂ්ඨ විමෝක්ෂ, ෂඩ් අභිඥා සාක්ෂාත් කරල සසර දුක් ගිනි නිවා ගත්තා.

## පච්චු පට්ඨාන ථේරාපදානය

අත්ථදස්සී කියන සම්බුදු පියාණන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ මම යක්ෂ යෝනියක ඉපදුනා. මම මනුස්සයෙක් වෙලා හොඳට සම්පත් තිබුන කාලයේ බුදුන් වහන්සේගෙ පිරිනිවීම මහත් අලාභයක් වුනා. මේ විදිහට හිතමින් ඉන්නකොට මගේ අදහස දැනගත්ත සාගර කියන ශ්‍රාවකයෙක් මා දුකින් මුදවන්න මා වෙතට ඇවිත්,

නුවණැත්තනි, කුමක් නිසා සෝක කරනවද, බිය වෙන්න එපා, ධර්මයේ හැසිරෙන්න, එයින් බොහෝ කුසල් කරගන්න පුළුවන්, යම් කිසි කෙනෙක් ජීවමාන බුදු රජාණන් වහන්සේ පුදනවද, පිරිනිවන් පෑවට පස්සෙ අබැටක් පමණ ධාතුන් වහන්සේ නමකට පුදනවද, ඒ ලැබෙන පිනේ අඩුවක් නෑ, ඒ නිසා සෑයක් තනල ධාතුන් පුදන්න කියල කිව්වා.

සාගර තෙරුන් වහන්සේගේ මේ වචන අහල, මම ධාතුන් වහන්සේලා නිදන් කරල සෑයක් හදල අවුරුදු 5 ක් පුද පූජා පැවැත්වුවා. මෙයින් හත්සිය වන කල්පයේ සප්ත

රත්නයෙන් යුක්ත මහත් බල තියෙන "භූරිපඤ්ඤ" කියන සක්විති රජෙක් විදිහට ඉපදුනා. සිවුපිළිසිඹියාවත්, අෂ්ට විමෝක්ෂත්, ෂඩ් අභිඥාත් ලබල ගෞතම බුදු සසුනෙදි අරිහත්වයට පත් වුනා.

## පුප්ඵ ථූපිය ථේරාපදානය

මම හිමාලයට ආසන්නව කුක්කුට කියන පර්වතයේ මන්ත්‍ර සාස්ත්‍රවල පරතෙරට ගිය බමුණෙක් වෙලා හිටියා. මගේ 5,000 ක් ශිෂ්‍යයෝ හැම උදෑසනකම නැගිටල මන්ත්‍ර හදාරනවා. ඒ අයත් මන්ත්‍ර සාස්ත්‍රයේ විශාරදයින් වුනා. දවසක් මට ගුරුවරය මෙහෙම කියනවා. තථාගතයන් වහන්සේ ලෝකයට පහල වෙලා ඉන්නෙ. දෙතිස් මහා පුරිස ලක්ෂණ, අසූ අනු ව්‍යඤ්ජන ලකුණුවලින් බ්‍යාම ප්‍රභාවෙන් (ශරීර ප්‍රභාව) බුදු රජාණන් වහන්සේ සූර්යා වගේ බබලනවා. ඒ වගේ තථාගතයන් වහන්සේට නමස්කාර වේවා කියල බුදු රජුන්ට ගෞරව කළා.

මේක අහගෙන මම, එහෙනම් ශිෂ්‍යයිනි අපි ගිහින් තථාගතයන් වහන්සේ මුණ ගැහිල ධර්මය ශ්‍රවණය කරමු කියල යන්න පිටත් වුනා. අතරමගදි මම රෝගාතුර වෙච්ච නිසා විවේක ගන්න සාලාවකට ගියා. බුදුන් වහන්සේ වෙතට ගිය ශිෂ්‍ය පිරිස රැස් කරවල, තථාගතයන් වහන්සේ කෙබඳුද, උන්වහන්සේගේ ගුණ කෙසේද කියල ඇහුවා. තමන් වටහා ගත්ත ආකාරයෙන් බුදු රජාණන් වහන්සේ මෙබඳු උතුමෙක් කියල ඔවුන් මට පැහැදිලි කළා. එයින් බුදුන් වහන්සේ කෙරෙහි සිත පහදව ගත්ත මම, තථාගතයන් වහන්සේ වෙනුවෙන් මල්වලින් සෑයක් හදල පූජා කරල පසුව කළුරිය කළා.

මල්වලින් සෑයක් හදල පූජා කළ පිනෙන් කල්ප ලක්ෂයක් දුගතියක ඉපදුනේ නෑ. හතළිස් දහස් වන කල්පයේ "අග්ගි සම" නම් මහත් බල ඇතිව 16 වරක් සක්විති පදවි ලැබුවා. විසි දහස් වන කල්පයේ "ඝතාසන" නමින් 38 වරක් සක්විති රජකම ලැබුවා. ගෞතම බුදු සසුනේ පැවිදි වෙලා සිවුපිළිසිඹියා සහිතව අරිහත්වය සාක්ෂාත් කළා.

## පභංකර ථේරාපදානය

පදුමුත්තර බුදු සමිඳුන්ගේ ධාතු නිදන් කරපු සෑයක්, කොටි වග වළසුන්ගෙන්, වන මෘගයන්ගෙන් ගැවසී ගත්ත මහ වනයේ තිබුනා. මේ සෑය වන්දනා කරන්න යන්න බැරි පරිසරයක තිබුනෙ. ඒ කාලයේ මම පිය මුතුන් මිත්තන්ගේ පරපුරේ සිරිත් අනුව, වන කාර්මිකයෙක් (වනයේ වැඩ කරන) වුනා. වනයේ තිබුන ඒ සෑය දැකල ඒ ස්ථානයේ තණකොළ, දර... ආදිය ඉවත් කරල අට වාරයක් වැඳල, පිටුපාන්නෙ නැතිව එතනින් යන්න ගියා.

මේ සිද්ධ කරගත්ත පිනෙන් තව්තිසා දෙව්ලොව ඉපදුනා. එහිදී මට හැට යොදුන් උස, තිස් යොදුන් පළල රන්මුවා විමානයක් පහල වුනා. 300 වාරයක් දෙව් රජකමත්, 25 වරක් සක්විති රජකමත් කළා. මම උපදින හැම අත්බවකම මහත් භෝග සම්පත් අඩුවක් වුනේ නෑ. දෝලාවකින් හෝ ඇතු පිටින් හෝ වනයේ ගමන් කරන කොට මම යම් දිසාවකට යනවද, මුළු වනයම මට පිහිට සලසනවා. කැලයේ කණු, කටු... ආදී කිසිවක් මුණ ගැහෙන්නෙ නෑ. ඒවා ඉවත් වෙනවා.

කුෂ්ට, ගෙඩි, කිලාස, මී මැස්මොර, දද, කැසිලි... වගේ රෝග මට නෑ. ඒ තමයි සෑය පිරිසිදු කිරීමේ විපාක. දුගතියෙන් වැළකිලා දෙව් මිනිස් දෙගතියේ පමණක් ඉපදුනා. ශරීරය හැමවිටම රන්වන් වුනා. පැහැපත් වුනා. නොකැමති දේ බැහැර වෙනවා. කැමති දේ ලැබෙනවා. මගේ සිත එකඟ වෙලා සමාධියට පත් වෙලා පිරිසිදු වුනා. මම ගෞතම සම්බුදු සසුනේ එක ආසනයේ හිඳගෙනම රහත් වුනා. මෙයින් සිය දහස් වන කල්පයේ කළ පිනෙන් දුගතියක ඉපදුනේ නෑ. ගෞතම බුදු සසුනෙදි සිවුපිළිසිඹියා සහිතව අරිහත්වයට පත් වෙලා භව කතරෙන් එතෙර වුනා.

## ඨම්භාරෝපක ථේරාපදානය

ධම්මදස්සී බුදු රජුන් පිරිනිවන් පැවට පස්සෙ උන්වහන්සේගෙ ධාතු නිදන් කළ චෛතියට කොඩි ගසක් හදල පූජා කළා. ඉනිමගක් හදාගෙන චෛතියට නැගල දෑසමන් මල් පූජා කළා. බුදු හිමි ආශ්චර්යයි, ධර්මය ආශ්චර්යයි, සාස්තෘ සම්පත්තිය ආශ්චර්යයි. ඒ පූජා හේතුවෙන් අපායක ඉපදුනේ නෑ. මෙයින් 94 වන කල්පයේ මහත් බල තියෙන "ථූපසිඛර" නමින් 16 වතාවක් සක්විති රජ වුනා. ගෞතම බුදු සසුනෙදි සිවුපිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව අරිහත්වයට පත්වෙලා සියලු දුකෙන් මිදුනා.

## සපරිවාර ථේරාපදානය

පදුමුත්තර සම්බුදු රජුන් පිරිනිවන් පැවට පස්සෙ, ධාතු තැන්පත් කරල සෑයක් හැදුවා. ඊට සැඳැහැවතුන් දිවා, රාත්‍රී පූජා පැවැත් වුවා. මම මහත් වූ ප්‍රසාද හිතින් සඳුන්වලින් වේදිකාවක් හැදුවා. සඳුන් දුමින් පූජා සිද්ධ කළා. මේ කරගත්ත පිනෙන් දෙව් මිනිස් කොතැන ඉපදුනත් මගේ ළාමක බවක් දක්කෙ නෑ. මෙයින් එක්දහස් පන්සිය වන කල්පයේ මහත් බල ඇති "සමන්ත" නමින් අට වරක් සක්විති රජවරු වුනා. ගෞතම බුදු සසුනේ සිවුපිළිසිඹියා සහිතව අරිහත් වුනා.

## උම්මා පුප්ඵිය ථේරාපදානය

සිද්ධාර්ථ බුදු රදුන්ගේ ධාතු චෛත්‍ය පූජාවක් තිබුනා. ඒ චෛත්‍යයට දිය බෙරලිය මලක් පූජා කළා. මෙයින් 94 වන කල්පයකට එහාදි සිද්ධ කළ මල් පූජාවෙන් දුගතියක ඉපදුනේ නෑ. මෙයින් 9 වන කල්පයේ මහත් බල ඇති "සෝමදේව" නමින් 85 වරක් සක්විති රජ සම්පත් ලබල, ගෞතම බුදුන් වහන්සේගේ කාලයේ සිවුපිළිසිඹියා සහිතව අරිහත් වෙලා භව ගමන නිමා කළා.

## ධාතු පූජක ථේරාපදානය

සිද්ධාර්ථ තථාගතයන් වහන්සේ පිරිනිවන් පැවට පස්සෙ එක් ධාතුන් වහන්සේ නමක් මා විසින් ලබා ගත්තා. ජීවමාන බුදු රජාණන් වහන්සේලාට වගේ ධාතුන් වහන්සේලාට වසර 5 ක් පූජා පැවැත්වුවා. මෙයින් 94 වන කල්පයේ යම් ධාතු පූජාවක් කළේද, එයින් දුගතියක ඉපදුනේ නෑ. ගෞතම සම්බුදු සසුනේ සිවුපිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සහිතව අරිහත්වයට පත් වුනා.

## චිතක පූජක ථේරාපදානය

මම චන්ද්‍රභාග ගං ඉවුරේ ගමන් කරනකොට මාළුවා මල් 7 ක් අරගෙන චිතකයට පූජා කළා. 94 වන කල්පයේ සර්වඥ චිතකයට යම් මල් පූජාවක් කළේද දුගතිගාමී වුනේ නෑ. මෙයින් 67 වන කල්පයේ සත්ත රත්නයෙන් යුක්ත "පටිජග්ග" යන නමින් 7 වරක් සක්විති රජ වුනා. සිවුපිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා සාක්ෂාත් කළා. උතුම් නිවනින් නිවී සැනසුනා.

## චිතක පූජක ථේරාපදානය

ඒ කාලෙ මම අජිත නම් බමුණෙක් වෙලා ඉපදිලා හිටියා. පූජාවක් කරන්න නොයෙක් මල් රැස් කළා. සිඛී බුදු රජුන්ගේ ආදාහන චිතකයට ඒ සියලු මල් පූජා කළා. මෙයින් 31 වන කල්පයේ යම් මල් පූජාවක්

කළේද, දුගතියක උප්පත්තිය ලැබුවෙ නෑ. මෙයින් 27 වන කල්පයේ මහත් බල ඇති "සුපජ්ජලිත" නමින් 7 වරක් සක්විති රජ වුනා. ගෞතම බුදු සසුනේදි සිවුපිළිසිඹියා ඤාණ, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා ඤාණ ලබල සසර සයුරෙන් එතෙර වුනා.

## ආසනත්ථවික ථේරාපදානය

සිඛී බුදු රජුන්ගේ උත්තම ධාතු සෑයක් තිබුනා. මම වනයේ අතරමං වෙලා ඇවිදිමින් ඉඳල වනයෙන් නික්ම යනකොට ශ්‍රේෂ්ඨ බුද්ධ ආසනයක් දැක්කා. ඇඳිලි බැඳගෙන බුදු රජුන්ට ස්තුති කරල සොම්නස් සිතින් මෙහෙම කිව්වා. පුරුෂ ශ්‍රේෂ්ඨයන් වහන්ස, ඔබ වහන්සේට නමස්කාර වේවා. ඔබ වහන්සේ සර්වඥයි. මම බුද්ධ සාසනය අරමුණු කරගෙන තථාගතයන් වහන්සේට ස්තුති කරල වැඳල උතුරු දිසාවට පිටත්ව ගියා.

මෙයින් 31 වන කල්පයේ බුදු රජුන්ට යම් ස්තුති පූජාවක් කළේද, ඒ හේතුවෙන් දුගතියක් දැක්කෙ නෑ. මෙයින් කල්ප ගණනකට පෙර "අතුල්‍ය" නමින් 7 වරක් සක්විති රජ වුනා. සිවුපිළිසිඹියා සහිතව ගෞතම බුදු සසුනේ අරිහත්වයට පත් වුනා.

## සත්ත පණ්ණිය ථේරාපදානය

සැදැහැවතුන් නොයෙක් සුවඳ වර්ග රැස් කරල චිතකයක් කරන කොට, මම මහත් බුද්ධ ගෞරවයෙන් ප්‍රසන්න සිතින් සුවඳ මිටක් ඒ වෙනුවෙන් පූජා කළා. මෙයින් ලක්ෂයක් පෙර කල්පයේ කළ ඒ පූජාවෙන් අපායකට ගියේ නෑ. ගෞතම බුදු සසුනේ පැවිදි වෙලා ත්‍රිවිද්‍යා ලැබුවා. ක්ලේශයෝ දවා හැරියා. හස්තියෙක් වගේ බැඳුම් සිඳල ආශ්‍රව රහිත වුනා. සිවුපිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා ලබල සසර තරණය කළා.

## චිතක පූජක ථේරාපදානය

පදුමුත්තර බුදුන් වහන්සේ පිරිනිවුනට පස්සෙ උන්වහන්සේගේ චිතකයට මම සල් මලක් පිදුවා. මෙයින් කල්ප ලක්ෂයකට පෙර සිද්ධ කළ ඒ පිනෙන් දුගතියකට ගියේ නෑ. ගෞතම බුද්ධ සාසනයේ පැවිදි වෙලා කෙලෙස් දවා හැරියා, බය නැසුවා, ආශ්‍රව රහිත වුනා. සිවුපිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා ලබා ගත්තා. බුදු සසුන සම්පූර්ණ කළා.



## පිළින්දවච්ච ථේරාපදානය

සුමේධ බුදු රජුන් පිරිනිවුනට පස්සෙ මම චෛතිය පූජාවක් කළා. ෂඩ් අභිඥා ඍද්ධි ඇති ශ්‍රාවක සංඝයා විෂයෙහි මහා දානයක් දුන්නා. සුමේධ බුදුන්ගේ ශ්‍රාවකයෙක් වූ සුමේධ කියන භික්ෂූන් වහන්සේ චෛතිය පූජාවේ අනුසස් දේශනා කළා.

මේ පූජාවෙන් දෙව්ලොව ඉපදුන මම අසූහය දහසක් දෙවඟනන් පිරිවරාගෙන දෙව් සැප වින්දා. එක් දිව්‍ය අප්සරාවක් නොයෙක් අයුරින් මා සතුටු කළා. අනිත් දෙව්වරු ඉක්මවා සිටියා. මම ඒ කාලයෙන් 25 වන කල්පයේ "වරුණ" නම් සක්විති රජෙක් වුනා. ඒ කාලෙ මිනිස්සු වී වපුරන්නෙ නැතිව වනයේ හැදුන ස්වයංජාත හැල්ම අනුභව කළා. එයින් චුත වෙලා දෙව්ලොව උපන් මම බොහෝ දෙව් සැප වින්දා.

මට සතුරෙක්ගෙන්වත් හිංසාවක් සිද්ධ වුනේ නෑ. මේ තමයි චෛතිය පූජාවේ විපාකය. එයින් එක් දහස් තිස් වන කල්පයේ මා විසින් දුන්න දානයෙන් දුගතියක ඉපදුනේ නෑ. මේ භද්‍ර කල්පයේ මහා බල ඇති සක්විති රජෙක් වුනා. බොහෝ මිනිස්සු පංච දුෂ්චරිතයෙන් වළක්වල සුගතියට පමුණුවල දෙවියන්ට පවා ප්‍රිය වුනා. ගෞතම බුදු සසුනේ සිවුපිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා ලබල භව ගමන නිමා කර ගත්තා.

## ඡත්ත දායක ථේරාපදානය

ඒ කාලයේ මගේ පුත්‍රයා බුද්ධ සාසනයේ පැවිදි වුනා. උන්වහන්සේ රහත් වෙලා පිරිනිවන් පෑවට පස්සෙ, මම පැවිදි පුතු සොයමින් යනකොට එතුමාගේ ධාතු සෑය හමු වුනා. මම ඒ සෑය වැඳල සුදු කුඩයක් අරගෙන සෑයට නැංවුවා. මෙයින් 94 වන කල්පයේ අරිහත් ධාතු සෑයට ඡත්‍රයක් පූජා කළ පිනෙන් දුගතියක උපන්නෙ නෑ. මෙයින් 25 වන කල්පයේ මහත් බල ඇති "මහාරහ" නමින් තුන් වරක් සක්විති රජ වුනා. සිවුපිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා ලැබුවා. සියලු කෙලෙස් නසල ගෞතම බුදු සසුනේ අරිහත්වයට පත් වුනා.

## චිතක පූජක ථේරාපදානය

ඇමතියන්, පරිවාර ජනයා සමග රාජායතනයේ වාසය කරනකොට සිඛී බුදු හිමි පිරිනිවුනට පස්සෙ, පහන් සිතින් සොම්නස්ව චිතකය ළඟට ගිහින් තූර්ය වාදනය කරල සුවඳ මල් ඉස්සා. සෑය වන්දනා කරල රජ මැදුරට ගියා. එහිදී චිතක පූජාව සිහි කළා. තථාගතයන් වහන්සේ උදෙසා කළ ඒ පූජාවේ පිං බලයෙන් දුගතියකට ගියේ නෑ. මීට කල්ප 31 කට පෙර "උග්ගත" කියන නමින් මහත් බල සම්පන්නව, 16 වරක් සක්විති රජ වුනා. දෙව් මිනිස් දෙගතියේම ඉපදුනා. ගෞතම බුදුන් වහන්සේගෙ කාලයේ සිවුපිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා ලබල සසර තරණය කළා.

## නාග සමාල ථේරාපදානය

නගර මැද වීථියේ සිඛී බුදු රජුන්ගේ ධාතු නිදන් කරල හදපු ස්ථූපයට මම පළොල් මලක් පිදුවා. 31 වන කල්පයේ කළ ඒ පිනෙන් අපායක ඉපදුනේ නෑ. මෙයින් පසළොස්වන කල්පයේ සත් රුවනින් යුක්ත මහත් බල ඇති "භූමිය" නම් සක්විති රජෙක් වෙලා ඉපදුනා. ගෞතම බුදු සසුනේ අභිඥාලාභී මහ රහත් නමක් බවට පත් වුනා.

## පදුමච්ඡදනිය ථේරාපදානය

විපස්සි බුදු රජුන් පිරිනිවුනට පස්සෙ ඒ චිතකයට පියුමක් පිදුවා. පියුම චිතකයේ මුදුනට නැගල ආකාසයේ වියනක් විදිහට පිහිටියා. මෙයින් 91 කල්පයකට එහා යම් මල් පූජාවක් කළේද, සුගති සම්පත් මිසක් දුගතිගාමී වුනේ නෑ.

මෙයින් 47 වන කල්පයේ සතර මහා සාගරය කෙළවර කරල තියෙන සිවු මහා දිවයිනට අධිපති, සතුරු රජවරු ජයගත්ත මහ බල ඇති "පදුමිස්සර" නම් සක්විති රජ වුනා. සිවුපිළිසිඹියා, අෂ්ට විමෝක්ෂ, ෂඩ් අභිඥා ලබල අරිහත්වයෙන් නිවී සැනසුනා.

## සක චිත්තනිය ථේරාපදානය

සෘෂීන් වාසය කරන, අල්ප ශබ්ද තියෙන, කැළඹීම් රහිත මහ වනයක් දැකල, තථාගතයන් වහන්සේ උදෙසා ඒ ස්ථානයේ වැලි සෑයක් හදල නොයෙක් මල් විසිරෙව්වා. නිර්මිත බුදු රජුන් ඉදිරියේ වගේ මම ඒ සෑයට ප්‍රසාද සිතින් වන්දනා කළා.

මේ සිද්ධ කරගත්ත පිනෙන් සත් රුවනින් යුක්ත රටවල රජකම් ලැබුනා. මෙයින් 91 කල්පයකට එහා යම් පූජාවක් කළේද, සුගතියේ මිසක් අපාගත වුනේ නෑ. මම 80 වන කල්පයේ සත් රුවනින් යුක්ත සතර මහා දිවයිනටම අධිපති "අනන්ත යස" නම් සක්විති රජ වෙලා ඉපදුනා. ගෞතම බුදු හිමි ජීවමාන කාලයේ සිවුපිළිසිඹියා සහිතව ෂඩ් අභිඥාලාභීව අරිහත් ඵලය පූර්ණ කරගත්තා.

## කප්ප රුක්ඛිය ථේරාපදානය

සිද්ධාර්ථ බුදුන්ගේ ධාතු චේතිය ඉදිරියේ විසිතුරු වස්ත්‍රයක් එල්ලල කප් රුකක් තිව්වා. එයින් පසු දෙව් මිනිස් කුමන අත්බැවක ඉපදුනත් මගේ ගේ ළඟ දොරටුවේ කල්ප වෘක්ෂයක් පිහිටනවා. මම ඇසුරු කරන පිරිසක් හිටිය නම්, ඒ සියලු දෙනාටම කප් රුකෙන් වස්ත්‍ර ගෙනත් අඳින්න පුළුවන්. මෙයින් 94 වන කල්පයේ යම් කප් රුක් පූජාවක් කළේද, දුගතියෙන් වැළකිලා සුගති සම්පත්ම ලැබුවා. මෙයින් 7 වන කල්පයේ සත් රුවනින් යුක්ත මහත් බල තියෙන "සුචේල" නමින් සක්විති රජ පදවිය අට වාරයක් ලැබුවා. ගෞතම බුදු සසුනේ සිවුපිළිසිඹියා සහිතව ෂඩ් අභිඥාලාභී මහ අරිහතුන් වහන්සේ නමක් බවට පත් වුනා.

## මේඛල දායිකා ථේරී අපදානය

සිද්ධාර්ථ බුදු රජුන්ගේ ධාතු සෑය හදනකොට නවකම් සඳහා බඳ පටියක් (හවඩියක්) පූජා කළා. මහ සෑයේ වැඩ අවසන් වුනාට පස්සෙත් නැවත බුද්ධ ප්‍රසාදයෙන් හවඩියක් පූජා කළා. මෙයින් 94 වන කල්පයේ යම් බඳ පටියක් පූජා කළේද, එයින් දුගතියක ඉපදෙන්නෙ නැතිව සසර බොහෝ සැප සම්පත් වින්දා. මේ තමයි ස්ථූප පූජාවේ ආනිසංස.

## පුලින ථූපිය ස්ථවිර අපදානය

නාරද නම් වූ මම හිමාලයේ අසපුවක තපස් රකින ජටිලයෙක් වෙලා හිටියා. එහි දහතුන් දහසක් ශිෂ්‍යයන් පිරිවරාගෙන වාසය කළා. විවේකයෙන් හිටපු මට මේ විදිහට හිතුනා. සියලු ජනයා මට ගරු කරනවා. නමුත් මා විසින් ගරු කරන්න කෙනෙක් නෑ. මට අවවාද අනුසාසනා දෙන්න කෙනෙක් නෑ. මම ආචාර්යවරයෙක් නැතිව වන වාසයට පැමිණියා. මට ඇසුරු කරන්න ගුරුවරයෙක් නෑ. වනයේ වාසය කිරීම අර්ථයක් නෑ. මා විසින් ගරු කළ යුතු උතුමෙක් හොයාගෙන ඇසුරු කරන්න තියෙනව නම් කිසිවෙක් මට ගරහන එකක් නෑ.

මගේ අසපුව තිබුනෙ සුදු වැලි තලාවකින් යුක්ත නොගැඹුරු ගං ඉවුරක. භවය කෙළවර කරපු සම්බුදු මුනිවරු හිටිය නම්, උන්වහන්සේලා අරමුණු කරමින් ඒ උදෙසා වැලිවලින් චෛත්‍යයක් හදල, සෘද්ධි බලයෙන් රත්තරන් නිපදවල රනින් කරන ලද කිණිහිරි මල් 3,000කින් වැලි සෑය පිදුවා.

යම් අවස්ථාවක කාම විතර්ක හට ගන්නකොට වැලි සෑය සිහි කරල ප්‍රත්‍යවේක්ෂා කරනවා. බුදු රජාණන් වහන්සේ සමග වාසය කරනව නම් කෙලෙස් විතර්ක සමග වාසය කිරීම සුදුසු නෑ. මේ විදිහට වැලි සෑය සිහි කරනකොට බුද්ධ ගෞරවය ඇතිවෙලා, උලකින් පෙළන ලද ඇතෙක්ගෙ වගේ මිත්‍යා විතර්කය දුරු වෙනවා.

මා විසින් කරපු ඒ කිණිහිරි මල් පූජාවේ විපාක වශයෙන්, සසර සැරිසරනකොට සිය දහස් කිරි මව්වරු මට පිරිවර වශයෙන් හිටියා. තථාගතයන් වහන්සේ වෙනුවෙන් වැලි සෑය හැදූ පිනෙන් ශරීරයේ දූවිලි දැලි කුණු තැවරුනේ නෑ. සසර බොහෝ සැප විපාක ලබල බුදුන් දවස සැවැත් නුවර මහ ධනවත් කුලයක ඉපදුනා.

මගේ මව්පියෝ බොහෝ ශ්‍රද්ධාවන්තයි. තෙරුවන් සරණ ගිහින්, දුටු නිවන් ඇතිව සාසනයට අනුව කටයුතු කරමින් හිටියෙ. බෝධියෙන් ගිලිහුනු පොතු අරගෙන රන් සෑයක් හදල ජීවමාන බුදුන්ට වගේ උදේ හවස නමස්කාර කළා.

පොහොය දවසක සෑය බැහැරට අරගෙන බුදුන්ගේ ගුණ කියමින් තුන්යම් රැයක් ගෙව්වා. බෝධියේ පොතුවලින් කරපු සෑය දකිනකොට අතීතයේ වැලිවලින් කළ චෛත්‍යය සිහි වුනා. ඒ ආසනයේ ඉඳගෙන අරිහත්වයට පත් වුනා.

**බුදු, පසේ බුදු, මහ රහතන් වහන්සේලාගේ ධාතු චෛත්‍යයකට වඳින්න පුදන්න යන අතරමගදී මළත්, ඒ බුද්ධ සංඥාව හේතු කරගෙන දුගතියක නූපදින බවත්, සුගතිගාමී වන බවත්** දේශනාවේ සඳහන් වෙනවා. ඒ සඳහා උදාහරණ කතාවක් මේ විදිහට දක්වන්න පුළුවන්.

රජගහ නුවර වාසය කරපු එක්තරා කාන්තාවක්, උදෙන්ම වැටකොලු මල් හතරක් කඩාගෙන, අජාසත්ත රජු විසින් ධාතු නිදන් කරල හදල තිබුන දාගැබට පූජා කරන්න යන්න පිටත් වුනා. වටපිටවත් නොබල බුදු ගුණ සිහි කරමින් අතරමග යනකොට, එළදෙනක් විසින් ඇනල අං පහරින් එතැනම මැරිල වැටුනා. දාගැබට මල් පුදන්න බැරි වුනා. නමුත් චෛත්‍ය වන්දනාවට යන චේතනාව තිබුන නිසා, මරණින් මතු සක්‍ර දෙවියන් ළඟ මහත් තේජස් ඇතිව ඉපදුනා. සක්‍ර දෙවියන් පවා, ඔබ මේ වගේ සම්පත් ඇතිව ඉපදුනේ කුමන පිනකින්ද කියල ඇහුවම ඉහත විස්තර කිව්වා.

ඒවං අචින්තියා බුද්ධා
බුද්ධ ගුණා අචින්තියා
අචින්තියේසු පසන්නානං
විපාකෝ හෝති අචින්තියා

බුදුවරු අනන්තයි, ඒ උතුමන්ගේ ගුණත් අනන්තයි, අපමණ ගුණ ඇති ඒ උතුමන් කෙරෙහි පැහැදීමෙන් අපමණ විපාකත් ලැබෙනවා. ශ්‍රද්ධා මාත්‍රයක් ප්‍රේම මාත්‍රයක් තියෙන කෙනා පවා සුගති පරායන වෙනවා. (සද්ධා මත්තං පේම මත්තං සබ්බේ තේ සග්ග පරායනා)

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය,**
**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**
**0716839346**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...



**09 වන කොටස**

## සංයුක්ත නිකාය - 2

### ආහාර සූත්‍රය - 21 පිටුව

කබලිංකාර ආහාර, ස්පර්ශ ආහාර, මනෝ සංචේතනා ආහාර, විඤ්ඤාණ ආහාර යන 4, උපදින්න සිටින හා ඉපදුන සත්ත්වයන්ට අනුග්‍රහය පිණිස වේ. මේ ආහාර 4 තණ්හාව නිදානකොට, ජාතිකොට, ප්‍රභවකොට, හේතුකොට ඇත්තේය. තණ්හාව වේදනාවත්, වේදනාව ස්පර්ශයත්, ස්පර්ශය සළායතනත්, සළායතන නාමරූපත්, නාමරූප විඤ්ඤාණත්, විඤ්ඤාණ සංඛාරත්, සංඛාර අවිද්‍යාවත් ප්‍රභවකොට ඇත.

### මෝලිය එග්ගුණ සූත්‍රය - 23 පිටුව

මෝලිය එග්ගුණ හිමි, විඤ්ඤාණ ආහාරය කවරෙක් අනුභව කෙරේදැයි ඇසූ විට, එසේ නොඅසන ලෙසත්, එවිට පුද්ගල දෘෂ්ටිය වන බවත්, විඤ්ඤාණය කෙසේ වේදැයි ඇසිය යුතු බවත්, එවිට සංඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ වේ යනු නියම පිළිතුර බවත් දේශනා කර ඇත. මේ හිමියන් මේ විදිහට එකින් එක නාමරූප, සළායතන, ස්පර්ශ... ආදී වශයෙන් මුළු පටිච්ච සමුප්පාද අංග පිළිබඳවම පුද්ගල දෘෂ්ටියෙන් වරදවා ප්‍රශ්න අසන විට, බුදුන් වහන්සේ ඒ ප්‍රශ්න එසේ ඇසීම වැරදි බවත් පෙන්වා අසන නියම ක්‍රමය දේශනා කර ඇත.

### දුතිය ශ්‍රමණ බ්‍රාහ්මණ සූත්‍රය - 27 පිටුව

ජරා මරණ, ජරා මරණ සමුදය, ජරා මරණ නිරෝධය, ජරා මරණ නිරෝධ මාර්ගය නොදනී නම්, ශ්‍රමණ බ්‍රාහ්මණ නම ඇතත් නියම ලෙස ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හෝ නොවන බවත්, මේ ක්‍රමයට පටිච්ච සමුප්පාදයේ ඉතිරි අංග ගැනත් දේශනා කර ඇත. එසේම ඒ අය ශ්‍රමණ ඵලය හෝ බ්‍රාහ්මණ ඵලය හෝ නොදන්නා බවත්, එකී සතර ආකාරය දනී නම් නියම ශ්‍රමණ බ්‍රාහ්මණ බවත්, ඒ ඵලයද මේ අත් බැව්හිදීම ලබන බවත් පෙන්වා ඇත.

### කච්චායන ගොත්ත සූත්‍රය - 29 පිටුව

සසර බොහෝ විට පුරුදු කරගෙන ආ "ඇත නැත" යන අන්ත දෙකෙහි පටිච්ච සමුප්පාදය අනුව ලෝකය ගොඩ නැගෙන හැටි දකින විට "නැත" යන අන්තය නොවේ. පටිච්ච සමුප්පාද නිරෝධය දකින විට "ඇත" යන අන්තය නොවේ. උපදින්නේ දුකම උපදී. නිරෝධ වන්නේ දුකම නිරෝධ වේ. මෙසේ දකින විට යම් ආත්ම දෘෂ්ටියක් වී නම් එය නොවේ. මේ දහම ගැන කංඛා විචිකිච්ඡා නොකරයි. පරප්‍රත්‍ය රහිතව සත්‍යාවබෝධය පිළිබඳව දැනීම වේ. මෙසේ සම්මා දිට්ඨි වේ.

### බාල පණ්ඩිත සූත්‍රය - 39 පිටුව

අවිද්‍යාවෙන්, තණ්හාවෙන් හට ගත් මේ කය ඇති බාලයාද, පණ්ඩිතයාද සදොරින් සුව දුක් විඳී. දෙදෙනාගේ වෙනස නම් අවිද්‍යා, තණ්හා දුරු නොකළ බාලයා ඒ හේතුවෙන් භව ගමන ඉදිරියට ගෙන යාමත්, පණ්ඩිතයා අවිද්‍යා, තණ්හා දුරු කළ බැවින් භව ගමන නැවතීමත් දුකින් මිදීමත්ය. මේ පිළිබඳ විස්තර ඇත. බාහිර නාමරූප ගැනද පෙන්වයි.

### ඥානවත්ථු සූත්‍රය - 89 පිටුව

44 ක් ඥාන පිළිබඳව විස්තර ඇත. ජරා මරණ දන්නා නුවණ, ජරා මරණ සමුදය, ජරා මරණ නිරෝධය, ජරා මරණ නිරෝධ මාර්ගය දන්නා නුවණ යනුවෙන් 4 ආකාරය බැගින් ජාති, භව, උපාදාන, තණ්හා, වේදනා, ස්පර්ශ, සළායතන, නාමරූප, විඤ්ඤාණ, සංඛාර යන මේ 11 ගැන එසේ 44 ක් ඥාන වේ. මේ අනුව අතීතයෙත්, අනාගතයෙත් යම් ශ්‍රාවකයෙක් මෙසේ දක්නා විට සෝතාපන්න වන බව පෙන්වා ඇත.

### දුතිය ඥානවත්ථු සූත්‍රය - 93 පිටුව

77 ක් ඥාන පිළිබඳව විස්තර ඇත. ජාති ප්‍රත්‍යයෙන් ජරා මරණ වේ යන නුවණය, ජාති නිරෝධයෙන් ජරා මරණ නිරෝධ වේ යන නුවණය, අතීත කල්හිද ජාති ප්‍රත්‍යයෙන් ජරා මරණ විය යන නුවණය, ජාති නිරෝධයෙන් ජරා මරණ නිරෝධ විය යන නුවණය, අනාගතයේද ජාති ප්‍රත්‍යයෙන් ජරා මරණ වේ යන නුවණය, ජාති නිරෝධයෙන් ජරා මරණ නිරෝධ වේ යන නුවණය, යම් ඒ ප්‍රත්‍යාකාර නුවණක් වේ නම් එයද ක්ෂය ස්වභාව, වය ස්වභාව, විරාග ස්වභාව, නිරෝධ ස්වභාව වේ යැයි දක්නා නුවණය. මෙසේ අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංඛාර වේ යන තුරු අග පටන් මුලට 7 x 11 = 77 ක් ඥාන වේ.

### අවිජ්ජාදී පච්චය දේශනා සූත්‍රය - 95 පිටුව

මේ ජීවයයි, මේ ශරීරයයි දෘෂ්ටි ගත්විට බ්‍රහ්ම චරියා වාසය නොවේ. ජීවය අනිකකියි, ශරීරය අනිකකියි දෘෂ්ටි ගත්විට බ්‍රහ්ම චරියා වාසය නොවේ. මේ අන්ත දෙකින් වෙන්ව, ජාති ප්‍රත්‍යයෙන් ජරා මරණ වේ, භව ප්‍රත්‍යයෙන් ජාති වේ... ආදී ලෙස පටිච්ච සමුප්පන්නව බැලීමෙන් බ්‍රහ්ම චරියා වාසය වේ.

**නතුම්හ සූත්‍රය - 101 පිටුව**

මේ කය තමන්ගේ යැයිද අනුන්ගේ යැයිද නොගෙන පුරාණ කර්ම හේතුවෙන් සැකසුන චේතනා සහිත වේදනාවට වස්තු වූ බව දත යුතුය.

**පංච භය වෛර සූත්‍රය - 107 පිටුව**

පස් වැදෑරුම් වෛර භය දුරු කළ සෝතාපන්න අංග ඇති, ආර්ය න්‍යාය මැනවින් දත් සෝතාපන්න අරිය ශ්‍රාවක කැමති නම් සතර අපායෙන් මිදී ඇති බවද, සෝතාපන්න බවද ප්‍රකාශ කරනු ඇති බව පෙන්වා ඇත.

**උපාදාන සූත්‍රය - 135 පිටුව**

උපාදානීය ධර්මයන්ගේ ආස්වාදය නැවත නැවත බලන්නහුට තණ්හාව වැඩේ. තණ්හා ප්‍රත්‍යයෙන් උපාදානය වේ. එවිට භව, ජාති, ජරා, මරණ, දුක් කඳ වේ. දර ගැල් ගණනක ගින්නට යළි යළි වියළි දර දමන විට ගින්න ඒ ආහාර, ඒ උපාදාන නිසා දිගු කල් පවත්නා මෙනි. උපාදානීය ධර්මවල ආදීනව නැවත නැවත බලන විට තණ්හා නිරෝධ වේ. ඒ නිසා උපාදාන නිරෝධ වේ. එවිට භව, ජාති, ජරා, මරණ නිරෝධ වේ. දර නොදැමූ විට ගින්න නිවී යන මෙනි.

**සංයෝජන සූත්‍රය - 135 පිටුව**

සංයෝජනීය ධර්මයන්ගේ ආස්වාදය නැවත නැවත බලමින් වසන්නහුගේ තණ්හාව වැඩේ. එවිට උපාදාන, භව, ජාති, ජරා, මරණ, දුක් රැස වේ. තෙලත් වැටියත් සකස් කිරීම නිසා තෙල් පහන දැල්වෙන සේය. සංයෝජනීය ධර්මයන්ගේ ආදීනව නැවත නැවත බලන විට තණ්හා නිරෝධ වේ. එවිට උපාදාන, භව... ආදී දුක් රැස නිරෝධ වේ. තෙලත් වැටියත් යළි සකස් නොකරන්නේ නම් පහන නිවෙන්නා මෙනි.

**මහා රුක්ඛ සූත්‍රය / දුතීය මහා රුක්ඛ සූත්‍රය - 139 පිටුව**

උපාදානීය ධර්මයන් නැවත නැවත ඇසුරු කිරීමෙන් තණ්හාව වැඩේ. පටිච්ච සමුප්පාද උදාව වේ. උපාදානීය ධර්මවල දෝසය නැවත නැවත මෙනෙහි කිරීමෙන් තණ්හාව නිරෝධ වේ. පටිච්ච සමුප්පාද නිරෝධය වේ.

මහ රුකක් යටට සහ හරහට ගිය මුල්වලින් ඕජාව උඩට ගෙනෙන තුරු ඒ උපාදානයෙන් ගස බොහෝ කලක් සිටුනා සේය. ගස උදුරා කපා වියළා ගිනි ලා අළු කොට සුළඟේ හෝ ජලයේ හෝ පා කර හැරිය විට නැවත නොනැගෙන සේය.

**නාමරූප සූත්‍රය - 143 පිටුව**

සංයෝජනීය ධර්මයන්ගේ ආස්වාදය නැවත නැවත බලනවිට නාමරූපයන්ගේ බැස ගැනීම වේ. නාම රූප ප්‍රත්‍යයෙන් පටිච්ච සමුප්පන්න ක්‍රියාවලිය වේ. දුක් රැස වේ. උපමාව - මහ රුක

**විඤ්ඤාණ සූත්‍රය - 143 පිටුව**

සංයෝජනීය ධර්මයන්ගේ ආස්වාදය නැවත නැවත ගන්නා විට විඤ්ඤාණයන්ගේ බැස ගැනීම වේ. ඒ හේතුවෙන් පටිච්ච සමුප්පන්න ක්‍රියාවලිය වේ. දුක් රැස වේ. උපමාව - මහ රුක

**නිදාන සූත්‍රය - 145 පිටුව**

ආනන්ද හිමි, ඉතා ගැඹුරු වූ පටිච්ච සමුප්පාදය තමන්ට ඉතා සරල ලෙස වැටහෙන බව කී විට, එසේ නොකියන ලෙසත්, මේ ධර්මාවබෝධය නැතිකමින් අනන්ත සත්ත්වයෝ අවුලෙන් අවුලට පත්ව සසර සැරිසරන බවත් පෙන්වා ඇත. උපාදානීය ධර්මයන්ගේ ආස්වාදය නැවත නැවත බලනවිට තණ්හාව වැඩෙන බවත්, එවිට උපාදාන, භව... දුක්ඛ, දෝමනස්ස... ආදී පටිච්ච සමුප්පාදය නැගෙන අයුරුත්, ඒවායේ ආදීනව බලන විට නිරෝධ වන අයුරුත් මහ වෘක්ෂයක් උපමාවෙන් පෙන්වා ඇත.

**අස්සුතවන්තු සූත්‍රය - 149 පිටුව**

නූගත් පුහුදුන් තෙම සතර මහා භූතයන්ගෙන් හට ගත් මේ කය කෙරෙහි උකටලී වේ, නොඇලේ, මිදෙන්නද කැමති වේ. ඊට හේතුව මේ කය වැඩීමත්, පිරිහීමත්, බිඳීමත් පෙනෙන නිසාය. එහෙත් සිත, මනස, විඤ්ඤාණය යන යමෙක් වේද, සසර බොහෝ කලක් මුළුල්ලේ මමය, මාගේ යැයි ගෙන ඇති නිසා ආත්ම ලෙස ගනී. ඒ නිසා තතු නොපෙනේ. එහෙත් අස්සුතවත් පෘතජ්ජනයාට මේ සතර භූතික කය ආත්මකොට ගැනීම උතුම්ය. ඊට හේතුව මේ කය වසරක්, දෙකක්, දහයක්, විස්සක්, සියයක් හෝ පෙනෙන්න පවතින බැවිනි. නමුත් එසේ නොපෙනෙන සිත, මනස, විඤ්ඤාණය යන මෙය වනයේ සිටින වඳුරෙක් අත්තක් මුදා හැර තවත් අත්තක එල්බ ගනීද, යළි අත්ත මුදා හැර තවත් අත්තක එල්බ ගනීද, මෙසේ සිතද රෑ දවල් අනිකක්ම උපදී, අනිකක්ම නිරුද්ධ වේ.

සුතවත් අරිය ශ්‍රාවකයා පටිච්ච සමුප්පාදය මනාකොට නුවණින් මෙනෙහි කර මෙසේ මේ හේතුව ඇති කල්හි ඵලය වේ, හේතුව නැති කල්හි ඵලය නොවේ, මෙය නූපන් කල්හි මෙය නිරුද්ධ වේ යැයි මෙම න්‍යාය දකී. එවිට රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණවල නොබැඳේ (කලකිරේ යනු දනට කියන අරුතයි). නොබැඳෙන්නේ නොඇලේ (නිකෙළෙස් වේ යන්නයි). නොඇලෙන්නේ මිදෙයි (විමුච්චතී යන්න මිදෙමි කියා අරුත් දී ඇත.) පද නිරුක්තිය - වි + මා + උච්ච + ඉති = වි + මුච්ච + ඉති = විමුච්ච + ඉති = විමුච්චති විය යුතුයි. එනම්, විශේෂයෙන් ඒ ඒ තැන් ඔසවා නොගනී යන්නයි. (මේ නිරුක්තිය වහරක අභයරතනාලංකාර මහතෙරුන් වහන්සේට ආ අදහසකි.) එවිට උපාදාන කළ කිසිවක් නැත. උපාදාන නිරෝධයෙන් ජාති, ජරා, මරණ සියලු දුක් නිරෝධ බව දැනගනී.

**දුතීය අස්සුතවන්තු සූත්‍රය - 151 පිටුව**

දඬු දෙකක් ඇතිල්ලීමෙන් උෂ්ණය මතු වේ. ඉවත් කළ විට නිවේ. සැප, දුක්, උපේක්ෂා වේදනාද ස්පර්ශයට අනුව හට ගනී. සැප වේදනාවට හේතු වූ ස්පර්ශයෙන් සැප වේදනාව උපදී. දුක් වේදනාවට හේතු වූ ස්පර්ශයෙන් දුක් වේදනාව උපදී. මැදහත් වේදනාවට හේතු වූ ස්පර්ශයෙන් මැදහත් වේදනාව උපදී. ඒ ඒ ස්පර්ශ නිරෝධයෙන් ඒ ඒ වේදනා නිරෝධ වේ. මෙසේ දකින විට ස්පර්ශයෙහි, වේදනාවෙහි, සංඥාවෙහි, සංඛාරයෙහි, විඤ්ඤාණයෙහි නොබැඳේ. නොබැඳෙන්නේ නොඇලෙයි, නොඇලෙන්නේ මිදෙයි, මිදුනේ මිදුනෙමියි දැනගනී.

**පුත්ත මංස සූත්‍රය - 153 පිටුව**

පුත්‍ර මාංශ උපමා පරිදි කබලිංකාර ආහාර පිරිසිඳ දැන වළඳන අයට පංච කාම ගුණික රාගය පිරිසිඳ දැනීම වේ. එවිට නැවත මෙලොවට (කාම ලෝකයට) එන සංයෝජනයක් නැත. අනාගාමී බවට හේතු වේ. හම ගැසූ ගවයෙක්ගේ උපමා පරිදි ස්පර්ශ ආහාරය දත යුතුය. හම ගැසූ ගවයෙක් යම් දෙයක් ඇසුරුකොට ගෑවීමෙන් වන දුක සේ දත යුතුය. එසේ

ස්පර්ශ ආහාරය පිරිසිඳ දැනගත් කල්හි වේදනාව පිරිසිඳ දකී. අරිහත්වයට හේතු වේ. මනෝ සංචේතනා ආහාරය, දුම් නැති, දිළිසෙන ගිනි අඟුරු වළකට බලවත් පුරුෂයන් දෙදෙනක් දෑතින් අල්ලා අදින විට ආපසු හැකිළෙන ලෙස දත යුතුය. ඒ ආර්ය ශ්‍රාවකයාටද මතු කළ යුත්තක් නැත. අරිහත්වයට හේතු වේ. මනෝ සංචේතනා පිරිසිඳ දත් කල්හි තුන් තණ්හා පිරිසිඳ දුටුවා වේ. විඤ්ඤාණ ආහාරය පිරිසිඳ දැකීමට, දඬුවමකට ගොදුරු වූ පුරුෂයෙකු උදේ, දවල්, රෑ අඩයටි සියය බැගින් තුන් සියයක තැලුම් කෑමක් සේ දැකිය යුතුය. විඤ්ඤාණ ආහාරය පිරිසිඳ දකින විට නාමරූප පිරිසිඳ දැකීම වේ. ඒ අරිසච්චටද මතු කළ යුත්තක් නැත. අරිහත්වයයි.

**අත්ථිරාග සූත්‍රය - 159 පිටුව**

ඉහත කී සතර ආහාරයන් එකිනෙකෙහි රාගය ඇති විට විඤ්ඤාණය පිහිටියේත් වැඩුනේත් වේ. එවිට නාමරූපයේ බැස ගැන්ම වේ. සිත්තරෙක් පුවරුවක, බිත්තියක, රෙදි පටෙක ස්ත්‍රී හෝ පුරුෂ රුවක් මැව්වා සේ, විඤ්ඤාණයේ නාම රූප බැස ගැන්ම වේ. එවිට සංඛාර වේ. එවිට පටිච්ච සමුප්පන්නව ජාති, ජරා, මරණ, දුක් කඳ වේ. ඉහත කී සිව් ආහාරයෙහි ඇල්ම නැත්නම්... දුක් කඳ නොවේ. සතර ආහාර ඇසුර නිසා විඤ්ඤාණය වැඩේ. එවිට නාමරූපයෝ බැස ගනී. එවිට සංඛාර වැඩීම වේ. එවිට සසර ගමන සැකසේ.

**සම්මසන සූත්‍රය - 167 පිටුව**

සුරාව ප්‍රිය කරන කෙනෙකුට රා බඳුනක් ලැබී ප්‍රිය මධුර බව හිතට දැනී බීමට ගත්තත්, වස මිශ්‍ර බව දැනගත්තොත් නොබොන්නා සේ, ලොව ප්‍රිය මධුර ස්වභාවයන් අනිච්ච, දුක්ඛ, අනත්ත, බිය, රෝග... ආදී ආදීනවයෙන් යුතු බව සිහි කළ විට ඒවායේ ආස්වාද නොපතයි. එවිට තණ්හා උපාදාන දුරු වී දුකින් මිදෙනු ඇත. නොදැන බීම අවිද්‍යා සහගතව ආසාවෙන් ඇලීමයි. විස බව දැන ගැනීම දුක සහ දුකට හේතුව දැනීමයි. දැන නොබී සැනසීම නිසා වන සුව වීම විමුක්තියයි. තුන් කල්හිම මෙසේ විමුක්තිය වේ.

**නළ කලාප සූත්‍රය - 177 පිටුව**

නාම රූප ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ වන බවත්, විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් නාම රූප වන බවත්, බට මිටි දෙකක් එකට ඇසුරු කරමින් පවතින අයුරු උපමාවක් ලෙස ගෙන පෙන්වා ඇත. එක බට මිටියක් ඉවත් කළහොත් අනික වැටේ. එලෙස පටිච්ච සමුප්පාද උදාව හා නිරෝධය පෙන්වා ඇත.

**කෝසම්බි සූත්‍රය - 181 පිටුව**

ඇදහීමෙන් තොරව, රුචියෙන් තොරව, පරම්පරා කතාවෙන් තොරව, ආකාර විකල්පනයෙන් තොරව, දෘෂ්ටියට අනුව වැටහීමෙන් තොරව පටිච්ච සමුප්පාදය තේරුම්ගත යුතුයි. පූර්ණ අවබෝධයෙන් අරිහත්වයට පත් වේ. සාමාන්‍ය අවබෝධය ලැබුන විට දිවේ පහස නිවා ගන්නට ළිඳක් හා ජලය දුටු කල මෙනි. බීමේ බලාපොරොත්තුව තිබුනත් පානය කර පහස නිවාගෙන නැතිවා මෙනි.

**සුසීම සූත්‍රය - 189 පිටුව**

පූර්ව භාග නුවණ පළමුව පහළ වේ. මග නැණ පසුව පහළ වේ. මේ පිළිබඳ විස්තර ඇත. අන්‍ය පරිබ්‍රාජකයෙක් වූ සුසීම දහම් සොරෙකු ලෙස ලාභ සත්කාර ලබා ගැනීමේ අටියෙන් දහම් දැනගන්න සසුනේ පැවිදි විය. භික්ෂූන් බුදු රදුන් ඉදිරියේ අරිහත් ඵලය ප්‍රකාශ කරනු අසා කළ සාකච්ඡාවක් හරියට තේරුම්ගත නොහැකිව බුදු රජුන් හමු වූ විට කළ දේශනාවක් මෙහි සඳහන් වේ.

**ජරා මරණ සූත්‍රය - 201 පිටුව**

ශ්‍රමණ බ්‍රාහ්මණ කෙනෙක් ජරා මරණ දනීද, ජරා මරණවලට හේතුව දනීද, ජරා මරණ නිරෝධය දනීද, ජරා මරණ නිරෝධ පටිපදාව දනීද, නියම ලෙසට එවැනි අයට ශ්‍රමණ බ්‍රාහ්මණ කීමට සුදුසුය. නොදනී නම් නුසුදුසුය. මෙසේ පටිච්ච සමුප්පාද කරුණු 11 ගැනම පෙන්වා ඇති සූත්‍ර පෙළ ඇත. 205 පිටුවේ පටන්, මේ කරුණු නොදන්නා අය සාස්තෘවරයෙක් සෙවිය යුතු බව සඳහන් වේ.

**නබසිඛා සූත්‍රය - 213 පිටුව**

දිටු සපත් (සම්මා දිට්ඨියට පත්) සෝතාපන්න පුද්ගලයා ක්ෂය කළ දුක පොළොව නම්, ඉතිරි දුක නිය පිටට ගත් පස් බිඳ මෙන් බව පෙන්වා ඇත. ඊළඟට ඇති සූත්‍ර පෙළ තවත් උපමා සපයයි. පොකුණකින් තණ අගට ගත් දිය බිඳ හා පොකුණේ දිය, පංච මහා ගංගා දිය සහ දිය බිඳු කිහිපයක්... ආදී වශයෙන්.

මෙම තැන්වල දිය බිඳු හතක්, ගල් කැට හතක්... ආදී ඉතිරි ප්‍රමාණ උපමාවලදී කුඩා කොටස් හතක් උපමා ලෙස ගෙන පෙන්වා ඇත.

මේ පෙන්වන්නේ අත්බැව් හතක් නොව දුක් කොටස් හතක් නැසීමට ඉතිරි වී ඇති බවයි. මාර්ග පූර්ණත්වයෙන් සහ ඵල පූර්ණත්වයෙන් දුක් කොටස් හත සහමුලින් නැසෙනු ඇත.

**පරියේසනා නානත්ත සූත්‍රය - 227 පිටුව**

ධාතු නානත්වයෙන් සංඥා නානත්වයද, ඒ නිසා සංකල්පනා නානත්වයද, ඒ නිසා ඡන්ද නානත්වයද, ඒ නිසා පරිදාහ නානත්වයද, ඒ නිසා පර්යේෂණ නානත්වයද වේ. මේවා මුල පටන් අගට උපදී. අග පටන් මුලට නුපදී. රූප ධාතු, රූප සංඥා, රූප සංකල්ප, රූප ඡන්ද, රූප පරිදාහ, රූප පර්යේෂණ වශයෙන් රූප ධාතු, ශබ්ද ධාතු, ගන්ධ ධාතු, රස ධාතු, පොට්ඨබ්බ ධාතු, ධම්ම ධාතු යන හයම විග්‍රහ කළ යුතුයි.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නොපළ වූ ගුණ කඳ VI



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

## අභයරතනාලංකාරය - 77

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගේ නොපළ වූ ගුණ කඳ යටතේ, මෙතෙක් විස්තර කළ ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ හෙළි කළ තවත් වැදගත් අත්දැකීම් කිහිපයක් පින්වත් ඔබගේ දැන ගැනීම පිණිස මෙවරත් සටහන් කරනවා. සමාජයේ බහුතරයක් දෙනා නොදන්නා, දහමේ සැඟවුනු සියුම් තැන් වගේම, පෙර අත්බැව්වල කර්ම දෝස මේ ජීවිතයට බලපාන ආකාරයත් විස්තර කෙරෙන තවත් පැතිකඩක් උන්වහන්සේ මේ විදිහට හෙළිදරව් කළා.

මම මහණ දිවියට ඇතුලත් වෙලා වසර ගණනාවක් වුනත්, මේ මහණ ජීවිතයේ මමත් නොදන්නා බොහොමයක් කාරණාවල සැඟවුනු දහම් පැතිකඩ දැනගත්තේ වහරක හාමුදුරුවන්ගෙන්. අපි මේ පරිහරණය කරන සිවුපසය ගැන වුනත්, මෙච්චර කාලයකට හිතාගෙන හිටියට වඩා වැඩි යමක් වහරක හාමුදුරුවන්ගෙන් දැනගන්න ලැබුනා. හාමුදුරුවො මහණ වෙච්ච දවස්වල උදේට සමහර විට ඇඹුල් කෙසෙල් ගෙඩියක්, එහෙම නැත්නම් පුංචි ගස්ලබු කෑල්ලක් විතරක් වළඳපු අවස්ථා ඕන තරම් තිබුනා. ඒකෙන් අපිට හොඳ පණිවිඩයක් දුන්නා. ඒ වගේම, දීපු දානයක් ඒ දානය ලබාගත්ත භික්ෂූන් වහන්සේ වළඳන්නෙ නැතුව තියෙද්දි, උන්වහන්සේගෙ අවසරයක් නැතිව ඉවත් කරන්න හොඳ නෑ කියලත් දැනගත්තා.

වහරක හාමුදුරුවො මහණ වෙච්ච අළුත නැවතිලා හිටපු පන්සලේ නායක හාමුදුරුවො එදා හිටියෙ නෑ. වයසට ගිහින් මහණ වෙච්ච හාමුදුරුවො නමක් සහ තවත් පොඩි හාමුදුරුවො හතර පස් නමක් තමයි වැඩ හිටියෙ. උන්වහන්සේලාට මේ කටයුතු ගැන ඒ තරම් දැනීමක් තිබුනෙ නෑ. සාමාන්‍යයෙන් නායක හාමුදුරුවො නමක්, සිල්වත් ගුණවත් භික්ෂූන් වහන්සේලා, ඒ වගේම ආගන්තුක භික්ෂූන් වහන්සේලා වැඩියම ගිලන්පස එකක් වුනත් පිළිගන්වන සම්ප්‍රදායික ක්‍රමයක් තියෙනවා. පීරිසියක පැන් එකක්, ගිලන්පස එකක්... ආදිය තියල, තැටියක තියල බොහොම ගරුත්වයෙන් අත් දෙකෙන් අල්ලල පිළිගන්වන සිරිතක් තියෙනවා. ඉතින් මුන්වහන්සේලාට ඒවා ගැන වැඩි අවබෝධයක් තිබුනෙ නෑ. වහරක හාමුදුරුවො ගැනත් ලොකු අවබෝධයක් තිබුනෙ නෑ. ඒ නිසා පොඩි හාමුදුරුවන්ට අනිත් හාමුදුරුවො කියනවා, ඔන්න ඔය දානය ටිකක් ගිහින් දෙන්න කියල.

ඉතින් දවසක් පොඩි හාමුදුරුවො ඉඳිආප්ප දෙක තුනකුයි හොදි ටිකකුයි බත් පොඩ්ඩකුයි දාල, ඕකට කෙහෙල් ගෙඩියකුත්, පුංචි ගස්ලබු කෑල්ලකුත් දාල වහරක හාමුදුරුවන්ට ගෙනිහින් දුන්නා. දානය ගෙනාවම සමහර වෙලාවට වහරක හාමුදුරුවො හිනාවෙලා, පොඩි හාමුදුරුවො දානෙ ගෙනාව නේද ඔහොම තියන්න කියල නිහඬව ඉන්නවා. මම සමහර දවස්වල දවල්ට ඇවිත් බලනකොට හාමුදුරුවො උදේ දානෙ වළඳලත් නෑ. දානෙ එහෙම්ම තියෙනවා. එක්කො පුංචි ගස්ලබු කෑල්ලක්, කෙසෙල් ගෙඩියක් විතරක් වළඳල අනිත් ටික තිබ්බ්ච විදිහටම තියෙනවා. එදා මම ඇහුවම හාමුදුරුවනේ දානෙ වැළඳුවද කියල, ඔව් මම දානෙ වැළඳුවා ඉතුරු ටික එහෙම්ම වහල තිව්ව කියල කිව්වා. ඉතිං මම පාත්තරය ඇරල බැලුවම දානෙ එහෙම්ම තියෙනවා. මම ඉතින් නැවතත් කිව්වා, හාමුදුරුවනේ දානෙ එහෙම්ම තියෙනවා, වළඳලම නැනෙ කියල. එතකොට හාමුදුරුවො කියනවා, ආ මං ගස්ලබු කෑල්ලක් වැළඳුවා, මට ඒ ඇති කියල. ඔහොම ඉඳල ගිලන්පස එකක් හදල දෙන්නද ඇහුවම දැන් ගිලන්පස අවශ්‍ය නෑ කිව්වා.

අන්තිමට දවල් දානය ගෙනාවම, පොඩි හාමුදුරුවො වහරක හාමුදුරුවන්ට දවල් දානෙ දෙන්න පාත්තරය ගන්න ගියා. එතකොට වහරක හාමුදුරුවො කියනවා, පොඩි හාමුදුරුවනේ මං උදේ දානෙ වළඳල අනික් ටික වහල තිව්වා, තවම ඒ දානෙ එහෙම්ම තියෙනවා, ඒ ටික මම දැන් වළඳන්නම්, අද දවල්ට දානය ගේන්න අවශ්‍ය නෑ කියල. පොඩි හාමුදුරුවන්ට එච්චර තේරෙන්නෙ නැති නිසා උන්වහන්සේත් හා කියල යන්න ගියා. ඉතින් මම කිව්වා, දැන් ඔය උදේ දානෙ සීතල වෙලානෙ ඒ නිසා පාත්තරය ගෙනිහින් අළුත් දානෙ ටිකක් බෙදල ගෙනත් දෙන්න කියල. එතකොට පොඩි හාමුදුරුවො නැවතත් ගියා පාත්තරේ ගන්න. වහරක හාමුදුරුවො ආයෙත් කියනවා, නෑ මට තියෙන ටික හොඳයි ඔබවහන්සේලා ගිහින් දානෙ වළඳන්න කියල. මම කිව්වා, දැන් දවල් දාන 4 - 5 ක්ම ලැබිල තියෙන්නෙ, උදේ දානෙ සීතල වෙලානෙ කියල. එහෙම කියල අර පාත්තරය ඇරල බලනකොට ඒකෙ ඉඳිආප්ප දෙක තුනකුයි හොදිත් එක්ක සීතල වෙලා ගිය බත් පොඩ්ඩකුයි තිබුනෙ. මම පොඩි හාමුදුරුවන්ට කිව්වා, වහරක හාමුදුරුවො කිව්වට කමක් නෑ ඔය දාන පාත්තරය අරගෙන ගිහින් නැවත අළුත් දානෙ බෙදල ගෙනත් දෙන්න කියල.

ඔය සිද්ධිය ඔය විදිහට කිහිප වතාවක්ම සිද්ධ වෙනකොට, වහරක හාමුදුරුවො මට ඔළුවෙන් සංඥා කරල එපා කිව්වා. මම නිශ්ශබ්ද වුනාම, උන්වහන්සේ පොඩි හාමුදුරුවන්ට කියනවා, මට තියෙන දානෙ ටික හොඳයි නැවත දානය ගේන්න අවශ්‍ය නෑ කියල. පස්සෙ පොඩි හාමුදුරුවො එතැනින් පිටත් වෙලා දානය වළඳන්න ගියා. ඊට පස්සෙ වහරක හාමුදුරුවො හිනා වෙලා මට මෙහෙම කියනවා.

දූන් උදේ ගෙනාපු දානෙ හොඳයි කියල මමනෙ කියන්නෙ. සමහරවිට ඒක නරක් වෙලා සීතල වෙලා තියෙන්න පුළුවන්. ඒ මොනව වෙලා තිබුනත්, ඒක මට හොඳ නිසානෙ මම හොඳයි කියන්නෙ. මේ දානෙ පිළිගැන්නුවට පස්සෙ ඒක මට අයිතියි. මම දානය වළඳල ඉතිරි කොටස තමයි වහල තිව්වෙ. දූන් ඊළඟට නැවතත් දානය වළඳන වෙලාව ආව නිසා නැවතත් දානය වළඳන්න මම තීරණය කළා. ඒ නිසානෙ මම කිව්වෙ, නැවත දානය අවශ්‍ය නෑ මේ තියෙන ටික මම වළඳන්නම් කියල. එතකොට ඔබවහන්සේ ඒ දානෙ අස් කරල අළුත් ටිකක් ගෙනත් දෙන්න කියනවා. ඒක කොච්චර අළුත් වුනත්, හොඳට රස්නෙට තිබුනත්, දූන් මම එපා කිව්වට පස්සෙනේ මගේ දානෙ අස් කරන්න ගෙනියන්නෙ. එතකොට ඔබවහන්සේ ඔය දානෙ රස්නෙට තියෙන නිසා, වැඩිපුර දාන 4 - 5 ක්ම ලැබිච්ච නිසා, සීතල වෙච්ච දානෙ දෙන්න හොඳ නෑ කියන්නෙ ඔබවහන්සේගෙ අදහසක් අනුව. නමුත් මගේ ලෙඩකට අසනීපයකට හරි ප්‍රත්‍ය වෙන මේ දානය වැළැක්වුවොත්, ඔබවහන්සේ ඒ වළක්වල තියෙන්නෙ පිළුනු වුනත් මගේ දානෙ. එතකොට දානෙ දීපු එක නෙවෙයි, වළක්වපු එකයි භයානක. නරක් වෙච්ච දානෙත් කමක් නෑ. සීතල වෙච්ච දානෙත් කමක් නෑ. හාමුදුරුවන්ට දානෙ දුන්නම නිශ්ශබ්ද වෙන්න. ආයෙ ඒකට ඇඟිලි ගහන්න යන්න එපා. ඔබවහන්සේට අනුකම්පාවක් හිතෙනව නම් මේක හොඳ නෑ සීතලයි, මොකටද නරක් වෙච්ච දානෙ දෙන්නෙ කියල, ඒ දානෙ එහෙම්ම තියෙද්දි තවත් දානෙ ටිකක් ගෙනත් තියන්න. එතකොට නරක් වෙච්ච දානෙ හෝ හොඳ දානෙ හෝ මමනෙ බාර අරගෙන තියෙන්නෙ. ඒ නිසා ඔබවහන්සේට ඒකෙ දෝසයක් නෑ.

ඉතින් වහරක හාමුදුරුවන්ගෙ මේ පැහැදිලි කිරීමත් එක්ක තමයි මටත් වැටහුනේ, ඔය වගේ සිද්ධි අපිටත් ඕන තරම් වෙලා තියෙනවනෙ කියල. සමහර වෙලාවට උපාසක ඇත්තො දවල්ට ගේන අලුත් දානෙ අපිට දීල, පරණ දානෙ ටික අපෙන් අහන්නෙ නැතිව අරගෙන ගිහින් අහක දාන අවස්ථා තියෙනවා. අන්තිමට බලනකොට අපි වළඳන්නෙත් නැතිවයි ඒක අස් කරගෙන ගිහින් තියෙන්නෙ. නමුත් ඒක විසි කරල අලුත් දානෙ ගෙනත් තිව්වත්, පූජා කරපු දානෙ අස් කරල තියෙන්නෙ අපේ අවසර නැතිව භික්ෂූන් වහන්සේලා පරිහරණය කරන්නත් කලින් නිසා දන්නෙම නැතිව ඒ අයත් දානෙ වරද්දපු වරදට අහුවෙනවනෙ. ඉතින් දානෙ හදල පූජා කළාම, පරණ වෙච්ච, නරක් වෙච්ච දානෙ වළඳනවා බලන් ඉන්න බැරි නම්, දානය අස් කරන්න හාමුදුරුවන්ගෙ අවසරයකුත් නැත්නම්, ඒක අයින් නොකර හොඳ දානෙ ටිකක් ගෙනිහින් තියන්න ඕන. හාමුදුරුවො කැමති එකක් වළඳයි. අපි ඕක ලොකුවට හිතුවෙ නැති වුනාට තව පොඩ්ඩෙන් ගුණ වඩපු උත්තමයෙක්ගෙ දානෙ වරද්දපු දෝසයට අහුවෙනවා. වහරක හාමුදුරුවො හරහා ඒ කතාව ඇදිල ආපු නිසයි අපිත් ඒ ගැන දූනුවත් වුනේ.

ඒ වගේම වහරක හාමුදුරුවො මහණ වෙන්න පෙර උපාසක මහත්තය කාලෙත්, කෙනෙක්ගෙ පෙර අත්බැව් බලන්න පුදුම හැකියාවක් තිබුනා. ඒ කාලෙ මේ බල්ලො බළල්ලු ගැන පවා අනන්තවත් බලල සමාධියෙන් විස්තර කියනවා. ඇත්තටම අපිට හිතාගන්නත් බෑ. මට වැටහෙන විදිහට නම් වහරක හාමුදුරුවො අවබෝධයෙන් දූනගත්ත ඒ මහා දහම් දූනුම සම්භාරය කියන්න තරම් කවුරුවත් හිටියෙ නෑ. ඒ කියන්නෙ ඒ දූනුම ගන්න තරම් කෙනෙක් හිටියෙ නෑ. හරියට ලෝකෙ තියෙන පොත් ඔක්කොම එකතු කරල හදපු පුස්තකාලයක් වගෙයි. ඒ තරම් දූනීමක්, අවබෝධයක්.

ඉතිං ඒ කාලෙ අපේ ආරණ්‍යයට අවුරුදු 20 - 25 ක විතර ළමයෙක් ආවා. ඒ ළමයට හරි අමුතු ප්‍රශ්න තිබුනෙ. මගෙන් අහන්නෙත් හරි අමුතු විදිහෙ ප්‍රශ්න. සමහර ප්‍රශ්න අපිට හිතාගන්නත් බෑ. හරි අසාමාන්‍යයි. මට හොඳට මතකයි, දවසක් මේ ළමය අවුරුදු 4 කට විතර කලින් මගෙන් අහපු ප්‍රශ්නයක් නැවතත් ඒ විදිහටම ඇහුවා. බැරි වෙලාවත් ඒකට දුන්න උත්තරය පොඩ්ඩක් එහෙ මෙහෙ වෙලා, එදාට වඩා වෙනස් උත්තරයක් දීපු ගමන් ඒක නැවත නැවතත් අහනවා. එදා මට මෙහෙම කිව්වා, ඇයි ඉතින් අද ඔබ වහන්සේ මෙහෙම කියන්නෙ කියල ඒකෙ පරස්පර හොයනවා. ඒ ළමය ඒ ජාතියේ විශේෂ කෙනෙක්.

හැබැයි මේ ළමය හොඳට ඉගෙන ගත්තු ළමයෙක්. නමුත් මොනව කළත්, ඒ ළමයට හිතාගන්න බැරි විදිහෙ මානසික ගැටළුවක් තිබුනා. උදාහරණයක් විදිහට මේ ළමය කවුරුහරි එක්ක කතා කර කර ඉන්නකොට, තවත් කෙනෙක් එතනට ආවොත් ටක් ගාල අහක බලාගෙන ඈතට යනවා. දෙන්නෙක් කතා කරන තැනකට මේ ළමයට ගිහින් කතා කරන්න බෑ. තොල්පට ගැහෙනවා. බය වෙනවා. වෙව්ලනවා. ඒ ළමයටත් පාලනය කරගන්න බැරි මහා සබකෝලයක් ඒ වෙලාවට එනවා. ඉතින් තමන්ට ඕන දේ අහගන්න බෑ. තමන්ට දූනුම තිබුනට හැම වෙලේම ඒක එළියට දාගන්න බෑ. නමුත් මේ ළමය මුකුත් නොතේරෙන මෝඩ පහේ කෙනෙකුත් නෙවෙයි. අහන්නෙත් හරි සියුම් ප්‍රශ්න. උදාහරණ විදිහට, බඩ විරේක වෙන්න බෙහෙත් බිව්වම සත්තු මැරෙන්නෙ නැත්ද, ප්‍රාණ ඝාතයක් වෙන්නෙ නැත්ද, ඔළුවෙ ඉස්හොරි යන්න මොනව හරි ගෑවම සතුන්ගෙ වාසස්ථාන විනාස වෙලා යන්නෙ නැත්ද... ඔන්න ඔය වගේ අසාමාන්‍ය ප්‍රශ්න තමයි අහන්නෙ. පස්සෙ තමයි මටත් කල්පනා වුනේ, මේ ළමය අබේරත්න උපාසක මහත්තය ළඟට යැව්ව නම් හරි කියල.

ඉතින් දවසක් අබේරත්න මහත්තය පොල්ගහවෙල සෙත් පූජාවක් (බෝධි පූජාවක්) කරන වෙලාවක මම මේ ළමය එතනට යැව්වා ගිහින් සම්බන්ධ වෙන්න කියල. බුද්ධ පූජාව එහෙම තියල වත්පිළිවෙත් කළාට පස්සෙ, අබේරත්න මහත්තය ළඟින්ම දකුණු පැත්තෙ වැඳගෙන, ලස්සනට හොඳට ඇඳ පැළඳ ගත්තු උස මහත නැට්ටුක්කාරයෙක් ඉන්නවා. පියවි ඇහැටම පේනවා. හරියට අර බූරු කුට්ටමේ ඉන්න නැට්ටුව වගේ. මේ ගුප්ත ලෝකයේ කෙනෙක්. ඉතින් මේ ළමයත් වටේ පිටේ තියෙන දේවල් ඔක්කොම පරීක්ෂා කරල සෙත් පූජාවට සම්බන්ධ වෙලා ඉන්නකොට මේ දර්ශනය දූක්කා. පූජාව ඉවර වෙච්ච ගමන් මේ ළමය මොකද කළේ, ඕක මහ හයියෙන් කියල අබේරත්න මහත්තයගෙනුත් ඇහුවා. මොකද ඒ ළමයට ඒ ගැන දූනුමක් නෑ. එතකොට මහත්තයත්, මම දන්නෙ නෑ ඔය කවුරුහරි ඉන්න ඇති කියල අහක බලා ගත්තා. ඉතින් මේ ළමය ඔය ගැන හැමවෙලේම විවිධ තර්ක වාද කරනවා. මහත්තයගෙනුත් හරි අමුතු ප්‍රශ්න තමයි අහන්නෙ.

දවසක් මේ ළමය මහත්තයගෙන් අහනවා, මහත්තය අරිහත්වය කියන්නෙ මොකක්ද කියල. මහත්තයත් ඒකෙ අර්ථය පැහැදිලි කරල දුන්නා. ඊට පස්සෙ අහනවා, රහතන් වහන්සේ නමකට තණ්හාව, ආසාව, බලාපොරොත්තුව පොඩ්ඩක්වත් නැත්ද කියල. එතකොට මහත්තය

කියනවා, ඉතින් ළමයො තණ්හාව, ආසාව, බලාපොරොත්තුව පොඩ්ඩක් හරි තියේ නම් ඒ රහතන් වහන්සේ නමක් නෙවෙයිනෙ කියල. මේ විදිහට හතර වටින්ම ප්‍රශ්න අහල මහත්තය ඒ ගැන පැහැදිලි කළාම අන්තිමට මේ ළමය අහනවා, එතකොට මුගලන් මහ රහතන් වහන්සේ ලෝකයේ කෙලවර බලන්න ගියේ රහත් වුනාට පස්සෙද නැත්ද කියල. ඒක අහනකොටම මහත්තය ඔළුව හරවල එකපාරටම අහක බලාගෙන තත්පර 10 ක් විතර හිටියා. ඊට පස්සෙ මහත්තය කතා කළේ නෑ. තවත් දෙතුන් සැරයක් ළමය ඒ ප්‍රශ්නයම ඇහුවත් උත්තරයක් දුන්නෙ නෑ.

දැන් ඉතින් මේ ළමයටත් හිතට මොකක්ද වගේ. තමන් අහපු ප්‍රශ්නය වැරදිද දන්නෙත් නෑ. වටේ අහගෙන හිටපු අනිත් අය හිතුවෙ මහත්තයට මේ ප්‍රශ්නයට උත්තර දී ගන්න බැරිව ඉන්නව කියල. පස්සෙ මහත්තය එහෙම්ම කතාව නතර කරල බුලත් විටක් එහෙම හැපුවා. එතකොට මාත් එක්ක හිටපු තවත් හාමුදුරුවො නමක් ඇහුවා, මහත්තය ඒ ළමය අහපු ප්‍රශ්නය හොඳ ප්‍රශ්නයක්නෙ, ඇත්තටම උන්වහන්සේට ලෝකයේ කෙලවර බලන්න යන්න හිතුනෙ මොකද කියල. අර ළමයගෙ හිත හැදෙන්නත් එක්ක තමයි උන්වහන්සේ එහෙම කිව්වෙ. පස්සෙ ඉතින් මහත්තය හාමුදුරුවන්ගෙ දිහා බලල හිනා වෙවී ඒකට උත්තර දුන්නා. අර වාසනා කෙලෙස් තිබ්බ නිසා සසර පුරුද්දට මිනිස්සුන්ට වසලය කියල කතා කරපු පිළින්දවච්ච මහ රහතන් වහන්සේ ගැනයි, වක්කඩක් උඩින් පැන පැන ගියපු රහතන් වහන්සේ ගැනයි, ඔය වගේ රහතන් වහන්සේලාට සම්බන්ධ තවත් ගොඩක් උදාහරණයි අරගෙන ඒ කාරණය හොඳට පැහැදිලි කරල දුන්නා. හැබැයි එදායින් පස්සෙ ඒ ළමය අහපු ප්‍රශ්නවලට මහත්තය උත්තර දෙන්න ගියේ නෑ. ඊට පස්සෙ ඒ ළමය ප්‍රශ්න ඇහුවෙත් නෑ.

ඉතින් ඇයි ඒ ළමයගෙ ප්‍රශ්නෙට උත්තර දුන්නෙ නැත්තෙ, ඇයි නිහඬව හිටියෙ කියල මටත් ඒ ගැන යම් කිසි කුකුසක් තිබුනා. මම ඉතින් දවස් 2 - 3 ක් ගියාට පස්සෙ වැඩිය පිරිස නැති රෑ වෙලාවක ඕක ඇහුවා. පස්සෙ තමයි මහත්තය ඒ ළමයගෙ පෙර අත්බවක් ගැන කිව්වෙ. මේ ළමය සංසාරෙ පෙර අත්බවක හාමුදුරුවො නමක් බණ කියන තැනකට ගිහින් පිරිස ඉදිරියේ උන්වහන්සේ එක්ක මෙහෙම වාද විවාද කරල පරද්දපු කෙනෙක්. සමහරවිට ඒ හාමුදුරුවො මගඵල ලාභියෙක් වෙන්නත් පුළුවන්. උන්වහන්සේ දේශනා කරපු නිවන් දකින ධර්මය ගැනත්, දහම් දෙසන විලාසයත් සළකා බලල තමයි මගඵල ලාභී හාමුදුරුවො නමක් වෙන්න පුළුවන් කියල මහත්තය කිව්වෙ. ඉතින් ඔය වගේ වෙලාවක තමයි ධර්ම සාකච්ඡා කරන තැනට ගිහින් උන්වහන්සේව පැරැද්දුව කියන්නෙ. හැබැයි ඉතින් උන්වහන්සේ මගඵල ලාභියෙක් වුනත් ලෝක සම්මත දහම පිළිබඳ ලොකු අවබෝධයක්, තර්ක කිරීමේ හැකියාවක් නොතිබෙන්න පුළුවන්. එතකොට දහම් අවබෝධයක් නැතත්, ලෝක සම්මතයේ ඉගෙන ගත්ත කෙනෙකුට විතණ්ඩවාදී තර්කවලින් ඒ වගේ හාමුදුරුවො නමක් වුනත් පරද්දන්න පුළුවන්. ඒ නිසා තමයි දහම් අවබෝධ කරන්න නම් තර්කය බැහැර කරන්න කියන්නෙ. ඒ කියන්නෙ තමන් පළවෙනිය වෙන අදහසින් තර්ක කරන්න එපා කියන එක. දිනන පරද්දන අදහසින් තර්ක කරනකොට දන දනම ධර්මය අධර්මය හැටියටත්, අධර්මය ධර්මය හැටියටත් කියන්න සිද්ධ වෙනවා. එහෙම නැතිව දැනගන්න තර්ක කරන්න එපා කියන එක නෙවෙයි මෙතනදි අදහස් කරන්නෙ. ඇත්තටම තර්ක කරන්නෙ නැතිව අවබෝධ කරගන්නත් බෑ තමයි.

ඉතින් මේ ළමයගෙ පෙර අත්බවේ විනෝදාංශෙ තමයි තැන් තැන්වල ගිහින් අනිත් අයත් එක්ක වාද කරල පරද්දල පළවෙනිය වෙන එක. කොහොම හරි ඉතින් අර හාමුදුරුවො ඒ වෙලාවෙදි මහා සංවේගයට පත් වෙලා තියෙනවා. ඒ තමන් වහන්සේ පැරදිච්ච එක ගැන නෙවෙයි, මේ වගේ වටිනා ඇත්ත දහමක් ලෝකයාට කියත්දි මේ ළමය ඇවිත් ඒක නවත්වල කරගත්ත අවැඩ ගැන. මේ ළමයට මේ අත්බවේදි ඒකෙ කර්ම දෝසයක් තමයි ඇවිත් තියෙන්නෙ.



මහණ වූ දින ගල් ලෙන තුළදී

ඉතින් මේ ළමයත් පෙර සසර පුරුද්දට වටින් පිටින් හිර කරල තමයි අබේරත්න මහත්තයගෙන් අර ප්‍රශ්නය ඇහුවෙ. ඔහුගේ අවශ්‍යතාවය තිබුනෙ දැනගන්න තමයි. හැබැයි සසර පුරුද්ද විදිහට තිබුනෙ හැම වෙලේම පළවෙනිය වෙන්න. ඒ පුරුද්ද තමයි මේ ජීවිතයටත් මතුවීගෙන ආවෙ. ඉතින් මහත්තය ඒ ළමය අර ප්‍රශ්නය අහපු වෙලාවෙ නිහඬව අහක බලාගෙන අර විදිහට තත්පර 10 ක් විතර හිටියෙ, සමාධියට යොමු කරල මේ ළමය මෙහෙම ප්‍රශ්න අහන්නෙ මොන වගේ කෙනෙක්ද කියල බලාගන්න. ක්ෂණිකවම සමාධියට යොමු කරල අර පෙර අත්බැවේ සිද්ධිය බැලුවා. එහෙම බලල ඒ ළමය ගැන අනුකම්පාවෙන් තමයි අර විදිහට නිහඬව හිටියෙ. මොකද බැරිවෙලාවත් මේ සාකච්ඡාවෙදිත් ළමය අවැඩක් කරගත්තොත් අර කර්ම දෝසය තවත් වැඩි වෙන්න පුළුවන්. ඒ නිසා තමයි ඒකට උපක්‍රමයක් වශයෙන් අර විදිහෙ ක්‍රමයක් අනුගමනය කළේ.

මේ ළමයත් අපේ පන්සලට යන එන කෙනෙක් නිසා, මම පස්සෙ දවසක වෙනදට වැඩිය මේ ළමයත් එක්ක හිතවත්

වෙලා, පැය එකහමාරක් විතර කතා කරල, අන්තිමට මේ ළමය වැරැද්දක් බාරගන්න තැනට මානසිකත්වය හැදුවා. ඊට පස්සෙ මම කිව්වා, ඔබ සසරෙ මෙන්න මෙහෙම දෙයක් කරල තියෙනවා, ඒකෙ දෝසයක් ඇවිත් තියෙනවා, ඒ සඳහා ඔබට කරන්න වැඩපිළිවෙලක් තියෙනව කියල. එතකොට මේ ළමය බොහොම උනන්දුවෙන් අහනවා, අනේ හාමුදුරුවනේ මම ඒක දන්නෙ නැනෙ, එහෙම දෙයක් වෙන්න පුළුවන්, මම ඒකට මොකද කරන්නෙ කියල. මම ඉතින් ඒකට අත්‍යවශ්‍ය දේවල් කියල දුන්නා.

තම තමන්ට පුළුවන් විදිහට බොහොම ගෞරවයෙන් සැළකිල්ලෙන් පිරිසිදුව සිසිල් පැන් පූජා, කිරි ආහාර පූජා, පළතුරු කැවිලි අවුල්පත්, කිරි පැණි පූජාවන් සහිතව අංග සම්පූර්ණ බුද්ධ පූජාවක් සකස් කරගෙන ශාරීරික, පාරිභෝගික, උද්දේසික චෛත්‍ය රාජයාණන් වහන්සේලා අභියස (ශාරීරික ධාතූන් වහන්සේලා තැන්පත් කරපු චෛත්‍ය රාජයාණන් වහන්සේ නමක් ළඟ නම් විශේෂයි) බුදු, පසේ බුදු, මහ රහත් උතුමන් වහන්සේලා, ආර්ය උතුමන් වහන්සේලා, සිල්වතුන්, ගුණවතුන් උදෙසා ඇප උපස්ථාන, උපහාර පූජා ආදිය තියල කමා කරගන්න හැටි කිව්වා. කමා කරල දණ ගහල වන්දනා කරනකොට, වටේ පිටේ ඉන්න අනිත් අයට නොඳනෙන්න නිහඬව, මගේ අතින් දැන හෝ නොදැන සසරෙදි ආර්ය උපවාදයක් සිද්ධ වෙලා තියේ නම් කමා වෙන්න කියල තුන් පාරක් කියන හැටි මම ඒ ළමයට පුරුදු කළා. මේ ළමය ලැජ්ජාවට අපහසුතාවයට පත්වෙලා කමා කරන එකක් නෑ කියල හිතලයි මම ඒ විදිහට නිහඬව කරන්න කිව්වෙ. පස්සෙ මේ ළමය ගත් කටටම කිව්වා, අනේ හාමුදුරුවනේ අබෙරත්න උපාසක මහත්තයමනේ අපිට කියල දීල තියෙන්නෙ මේ ලෝකෙ වැරදි පව් නොකරපු කෙනෙක් නෑ කියල, ඉතින් මම මේක හොරෙන් කමා කරන්න ඕන නෑ, මම එන සැරේම සෙත් පූජාව කරන දවසට කෙලින්ම ගිහින් මහත්තයට වැඳල සමාව ගන්නව කියල. මම කිව්වා, එහෙම කරන්න පුළුවන් නම් සියයට පන්සියයක්ම හොඳයි, එහෙම බැරිනම් තමයි මම අර විදිහට කරන්න කිව්වෙ කියල.

ඉතින් මේ ළමය ඊළඟ සතියෙම මහත්තයට පුංචි පිරිකරකුත් වෙනම හදාගෙන, අපේ අනෙක් හාමුදුරුවරුත් ඉන්න තැනක උන්වහන්සේලාටත් වැඳල පිරිකර බැගින් පූජා කරල, අන්තිමට මහත්තයටත් පිරිකරක් පූජා කරල දණ ගහල වැන්දා. වඳින ගමන් අර කමා කරන වාක්‍යය හෙමිහිට කියනකොට මහත්තයට ඒක ඇහුනා. දෙවෙනි සැරේ කමා කරන වාක්‍යය කියනකොට මහත්තය ඇහුවා මොකක්ද මොකක්ද කියල. එතකොට මේ ළමය තව ටිකක් හයියෙන් කිව්වා. මේ ජීවිතයේ හෝ අනන්ත සංසාරයේ හෝ මගේ අතින් දැන හෝ නොදැන වරදක් වෙලා තියෙනව නම් මම ඒකට කමා කරනවා, මට කමාව ලැබෙන්වා!!! කියල මහත්තයගෙ කකුල් දෙක අල්ලගෙන වැන්දා. ඊට පස්සෙ මහත්තය අත දික් කරල මොනව හරි අධිෂ්ඨානයක් කරල, ආ හොඳයි ඉතින් ඕව ඔහොම තමයි, බුද්ධ පූජාවට සම්බන්ධ වෙන්න කියල ඒ ළමයට ආශිර්වාද කළා. ඉතින් ඒ ළමය මේ පන්සලට තවමත් එනවා. තවමත් පුංචි අවුල් ගතියක් තිබුනත් ඉස්සරට වඩා 80% කින් විතර හොඳයි. මොකද 100% ක්ම ගෙවෙන්නෙ නැතිව කර්ම දෝසයේ ශේෂ මාත්‍රයක් තියෙන්න පුළුවන්.

ඉතින් අර පූජාව වෙලාවෙදි මහත්තය ළඟ දකුණු පැත්තෙන් නැට්ටුක්කාරයෙක් වගේ වැඳගෙන හිටියෙ දේවතාවෙක්. ඒ ගැන මම ඇහුවම අබෙරත්න මහත්තය කියනවා, ස්වාමීන් වහන්සඔය වගේ අය අප්‍රමාණව ඉන්නවා, ඕව ඉතින් මිනිස්සුන්ට කිව්වට වැඩක් නෑ, එතකොට මිනිස්සු ඕව පස්සෙමයි දුවන්නෙ, නමුත් අපේ බලාපොරොත්තුව ඕක නෙවෙයිනෙ කියල. ඉතින් හැමදේකින්ම මහත්තය උත්සාහ කළේ, නිවන් දකින දහම් පැත්ත පෙන්වා දෙන්නමයි. කොයි පැත්තෙන් ප්‍රශ්න ඇහුවත් අන්තිමට කරකවල ගන්නෙ ඒ ඉලක්කයටමයි. ඒ සඳහා උන්වහන්සේ විවිධ ක්‍රම අනුගමනය කළා. ඒවා එකක් කියල නෑ. අසනීප වෙලා හිටපු අන්තිම කාලෙ තමන්ගෙ ශරීරය පවා මේ සසරෙ භයානකත්වය පෙන්වන්න යොදා ගත්තා. කටින් කියනවට අමතරව විවිධ ඉරියව්වලිනුත් උන්වහන්සේ ඒ කාරණය පෙන්වල තියෙනවා.

වහරක හාමුදුරුවෝ අසනීප වෙලා රෝහලේ නැවතිලා ප්‍රතිකාර ගනිමින් විවේකීව වැඩඉන්න කාලෙ, මට ඉඩකඩ ලැබුනම බලන්න යන සිරිතක් තිබුනා. ළඟ හිටපු හුඟ දෙනෙක් උන්වහන්සේව මුණගැහෙන්න යනවට අකමැත්තෙන් හිටියෙ. හැබැයි ඒ පුද්ගලික කාරණා මත නෙවෙයි. වැඩි හොඳට සහ විවේකයට බාධා වේවි කියන හැඟීමෙන් තමයි එහෙම කළේ. කොහොම නමුත් එදා මම ගියේ මට තිබ්බ්ච යම් යම් ප්‍රශ්න කිහිපයක් අරගෙන අවස්ථානුකූලව ඉඩ ලැබුනොත් විසඳ ගැනීමේ බලාපොරොත්තුවෙන්. විනාඩි කිහිපයකින්ම මගේ ප්‍රශ්න ටික විසඳ ගත්තා. ඒ තරම් අසනීප තත්ත්වයෙන් හිටියත් ගිය අයගෙ අවශ්‍යතාවය සම්පූර්ණ කිරීම උන්වහන්සේගෙ සිරිතක්.

මම ඉතින් ඒ ගැන හිත හිතා හාමුදුරුවෝ ළඟට වෙලා, ඒත් කතා කරන්නෙ නැතිව ටික වෙලාවක් හිටියා. ඒ අවස්ථාවෙ මගේ අවශ්‍යතාවය සම්පූර්ණ කරල දීල අපිට ආශිර්වාද කළා. ඒ වෙලාවෙ උපස්ථායක මහත්තය අපිට කිව්වා, දැන් හාමුදුරුවෝ විවේක ගන්න වෙලාව කියල. අපි හා හොඳයි කියල හාමුදුරුවන්ගෙන් අවසර අරගෙන එන්න සූදානම් වුනා. ඊට පස්සෙ වහරක හාමුදුරුවෝ උපස්ථායක මහත්තයට කිව්වා, මේ ස්වාමීන් වහන්සේලාට දවල් දානය වළඳන්න දෙන්න කියල. ඉතින් අපිට හාමුදුරුවන්ගෙ ඇඳ ළඟම දානය වළඳන්න ඉඩ හදල දුන්නා. මම දානය වළඳනකොට හාමුදුරුවෝ දිහා බලාගෙන මහා සංවේගයකින් තමයි වැළඳුවෙ. ඒ වෙලාවෙ හාමුදුරුවොත් ඇඳේ හිටියෙ හරියට මළමිනියක් තියල තියන ආකාරයෙන්. අත් දෙකත් ඇඟිලි බැඳල කකුල් දෙකත් ළං කරල තියාගෙන ඇස් දෙකත් පියාගෙන ඒ විදිහටම හිටියා. උපස්ථායක මහත්තයත් වටපිට බලල එතන තිබ්ච්ච සුදු රෙද්දක් දාල මූණ විතරක් පේන විදිහට ඉතිරි කරල මුළු ඇඟම සුදු රෙද්දෙන් වැහුවා. ඒ දර්ශනය දැකපු අවස්ථාවෙ මට හාමුදුරුවන්ගෙ අපවත්වීම මැවිල පෙනුනා. දානෙවත් වළඳගන්න බැරි තරම් මහා සංවේගයක් ඇති වුනා. වහරක හාමුදුරුවෝ සෙසු ලෝකයා වෙනුවෙන් මේ ජීවිතයේ වුනත් වින්ද අප්‍රමාණ දුක් කන්දරාව මැවි මැවී පෙනුනා. උන්වහන්සේ අවවාදයෙන් වගේම ආදර්ශයෙනුත් කරුණාවෙන් දයාවෙන් හැමදෙනාගෙම දෙලොව යහපතට දහම් මග නැවත මතු කරල දුන්නා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# සසර බියකරු බව වටහා ගැනීමට බුදු රදුන්ටත් කර්ම විපාක ඵල දුන් අයුරු ත්‍රිපිටකය ඇසුරින්...

නිර්මල බුදු දහම මේ තාක් නොනැසී ලිඛිතව සටහන් වෙලා තියෙනව නම්, ඒ තියෙන්නෙ දනට විද්‍යමානව පවතින ත්‍රිපිටක ග්‍රන්ථ තුල බව බොහෝ දෙනෙක් දන්න කාරණයක්. ඒ අනුව මේ සසරේ තියෙන බියකරු බව කොච්චරද කියන කාරණය පෙන්වා දෙන්න, බුදු රජාණන් වහන්සේටත් කර්ම විපාක ඵල දුන් බවට ත්‍රිපිටකය ඇසුරින් සාක්ෂි ඉදිරිපත් කරමින් කෙරෙන දහම් විග්‍රහයක් හැමෝගෙම යහපත පිණිස මේ විදිහට ඉදිරිපත් කරනවා.

අපදාන පාළියේ අවණට ඵලදායක වර්ගයේ පුබ්බ කම්ම පිලෝතිකාපදානයේ උන්වහන්සේට ඵල දුන් කර්ම විපාක 12 ක් පිළිබඳව දේශනා කරල තියෙන බව සඳහන් වෙනවා. එහි සම්පූර්ණ පෙළ සහ සිංහල අරුත බුද්ධ ජයන්ති ත්‍රිපිටක ග්‍රන්ථ මාලාවේ අපදාන පාළි පළමු පොතෙන් බලාගන්න පුළුවන්. (548 පිටුව) ඒ සූත්‍රයෙන් උපුටා ගත්ත පාළි වාක්‍ය කිහිපයක් සමග සිංහල අරුත පහත සඳහන් කරනවා.

සුනාථ භික්ඛවෝ මයිහං<br>
යං කම්මං පකතං මයා<br>
පිලෝතිකස්ස කම්මස්ස<br>
බුද්ධ ත්තෙපි විපච්චති

මහණෙනි, මා විසින් යම් කර්මයක් කරන ලදද, මාගේ ඒ කර්මය අසව්. විපාකාවශේෂ කර්මය බුදු බැව් ලැබූ කල්හිද විපාක දේ.

පෙර මම අප්‍රකට වූ ක්‍ෂුද්‍ර ජාතියට අයත් මුනාලි නම් දූර්තයෙක් වීමි. එකල්හි ක්ලේශයන්ගෙන් නින්දා නොකටයුතු වූ සරභූ නම් පසේ බුදුන් වහන්සේට නින්දා කළෙමි. ඒ කර්ම විපාකයෙන් බොහෝ කලක් නිරයෙහි සැරිසැරීමි. බොහෝ දහස් ගණන් අවුරුදු දුක් වේදනා වින්දෙමි. ඒ කර්මයාගේ අවශේෂ විපාක වශයෙන් මේ අන්තිම භවයෙහි සුන්දරිකා නම් පරිබ්‍රාජිකාව නිසා මා විසින් නින්දා වචන ලබන ලදී.

සබ්බාභිභූ නම් බුදු රදුන්ගේ නන්ද නම් ශ්‍රාවකයෙක් විය. උන්වහන්සේට නින්දා කොට මා විසින් බොහෝ කාලයක් නිරයෙහි සැරිසරන ලදී. අවුරුදු දස දහසක් පමණ වූ දීර්ඝ කාලයක් නිරයෙහි සැරිසැරීමි. මිනිසත් බව ලත් මම බොහෝ නින්දා ලැබීමි. ඒ කර්මයාගේ ශේෂ වූ විපාකයෙන් චිංචිමානවිකා තොමෝ, ජන සමූහයා ඉදිරියෙහි මට අභූතයෙන් චෝදනා කළාය.

මම බොහෝ දෙනා විසින් සත්කාර කරන ලද්දා වූ, පුදන ලද්දා වූ බහුශ්‍රැත බමුණෙක් වීමි. මහ වනයෙහි පන්සියයක් මානවකයන්ට මන්ත්‍ර හදාරවමි. මහත් ඍද්ධි ඇති පංච අභිඥාලාභී වූ භීම ඍෂි තෙම එහි පැමිණියේය. මම එසේ පැමිණියහු දක නින්දා නොකටයුතු වූ ඔහුට නින්දා කළෙමි. ඉක්බිති මම ශිෂ්‍යයන්ට, මේ ඍෂි තෙම කාම භෝගියෙකැයි කීමි. මානවකයෝද මා කී වචන අසා සතුටු වූවාහුය. ඉක්බිති මානවකයෝ හැමදෙනම ගෙයක් පාසා පිඬු සිඟමින් මේ ඍෂි තෙම කාම භෝගියෙකැයි මහජනයාට කීහු. ඒ කර්ම විපාකයෙන් මේ හැම පන්සියයක් භික්‍ෂූහු සුන්දරිකා පිරිවැජිය නිමිති කොට නින්දා ලැබූහ.

පෙර මම එක පියෙකුට දාව දෙමව් කුසින් උපන් වේමාතික සොහොයුරු ධනය හේතු කොටගෙන නැසීමි. ගිරි දුර්ගයක හෙළීමි. ගලකින්ද තැලීමි. ඒ කර්ම විපාකය හේතු කොටගෙන දෙව්දත් තෙමේ මට ගලක් පෙරළීය. ඉන් නැගුනු ගල් පතුරක් මාගේ පයෙහි මහඟිල්ල තැලීය.

පෙර මම කුල දරුවෙක්ව මහ මගෙහි ක්‍රීඩා කරමින්, මග වඩිනා පසේ බුදු හිමි නමක් දක ගල් කැබැල්ලක් උන් වහන්සේ දෙසට හෙළීමි. ඒ කර්ම විපාකයෙන් මේ අන්තිම භවයෙහි දෙව්දත් තෙමේ මා මැරීම පිණිස දුනුවායන් යෙදවීය.

මම පෙර ඇතරුවෙක් වීමි. පිඬු පිණිස හැසිරෙන පසේ බුදු හිමි නමක් දක ඇතා ලවා උන්වහන්සේ ගටා ලැවීමි. ඒ කර්ම විපාකයෙන් ගිරිබ්බජ නම් උතුම් නගරයේදී මත් වී භ්‍රාන්ත වූ දරුණු නාලාගිරි ඇතා මා වෙත එළඹියේය.

මම පෙර පෘථිවිශ්වර වූ රජෙක් වීමි. සැතකින් ගසා පුරුෂයෙකු මැරීමි. ඒ කර්ම විපාකයෙන් බොහෝ කාලයක් නිරයෙහි පැසුනෙමි.

ඒ කර්මයාගේ ශේෂ වූ විපාකයෙන් මෙකල මාගේ පාදයෙහි සිවිය සියල්ල ඇතුලත ලේ තැල්ම නිසා ප්‍රදූෂ්‍ය විය. කර්මය නැති නොවේ.

මම කෙවුල් ගමක කෙවුල් දරුවෙක් වීමි. නසන ලද මසුන් දැක සොම්නස ඉපදවීමි. ඒ කර්ම විපාකයෙන් මාගේ හිසෙහි දුක් වේදනාවක් ඇති විය. යම් කලෙක්හි විඩූඩභ තෙමේ යුධ කළේද එකල්හි සියලු ශාක්‍යයෝද නැසුනාහුය.

ඵුස්ස බුදු රජාණන් වහන්සේගේ සසුනෙහි ශ්‍රාවකයන්ට යව කව් බුදිව්, හැල් නොබුදිව් යැයි නින්දා කළෙමි. බමුණකු විසින් ආරාධනා කරන ලදුයෙමි වේරංජාවෙහි විසීමි. එකල ඒ කර්ම විපාකයෙන් තෙමසක් යව අනුභව කරන ලදී.

පෙර මල්ල යුද්ධයක් පවත්නා කල්හි මල්ල පුත්‍රයෙකු පෙළීමි. ඒ කර්ම විපාකයෙන් මාගේ පිටෙහි දුක්ඛ වේදනාවක් විය.

මම පෙර වෙදෙක් වීමි. ධන ලෝභයෙන් එක් සිටු පුතෙකු විරේක කරවීමි. ඒ කර්මයෙන් මට ලෝහිත පක්ඛන්දිකා රෝගය වැළඳුනේ වේ.

පෙර ජෝතිපාල මානවක වූ මම එකල්හි කාශ්‍යප බුදු රජාණන් වහන්සේට, මේ මුණ්ඩයාට (හිස මුඩු කළහුට) සම්බෝධි ඥානයක් කොයින්ද, සම්බෝධි ඥානය ඉතා දුර්ලභ යැයි කීමි. ඒ කර්ම විපාකයෙන් උරුවේලාවෙහි සාවුරුද්දක් බොහෝ දුෂ්කර ක්‍රියා කළෙමි. ඉන්පසු සම්‍යක් සම්බෝධියට පැමිණියෙමි. පූර්ව කර්මයෙන් සැප වළක්වන ලදුයේ නොමගින් බුදු බව සොයන්නෙමි, මම ඒ නොමගින් උතුම් සම්‍යක් සම්බෝධියට නොපැමිණියෙමි. පින් පව් ගෙවාලූයෙමි, කෙලෙස් තැවුල් බැහැර කළෙමි, ශෝක රහිත වූයෙමි, උපායාස රහිත වූයෙමි, පරිනිර්වාණයට පත්වන්නෙමි.

සියළු අභිඥා බලයනට පත් සර්වඥයන් වහන්සේ අනවතප්ත මහ විල් තෙරෙහිදී භික් සඟන හමුයෙහි මෙසේ වදාළ සේක.

මේ දේශනාවට අනුව ලොව්තුරා බුදු වුනත් ඵල දෙන්න ශේෂ වන කර්ම කොටසක් තියෙන බව පැහැදිලි වෙනවා. එහෙනම් අනිත් අය ගැන කවර කතාද? බුදු **දහමේ සඳහන් පරිදි සත්ත්වයන් තුල ආකාර 8 කින් ආබාධ ඇතිවන බව පෙන්වා තියෙනවා.**

1. පිත්ත සමුට්ඨාන ආබාධ
2. සෙම්හ සමුට්ඨාන ආබාධ
3. වාත සමුට්ඨාන ආබාධ
4. සන්නි පාතිතා ආබාධ
5. උතු පරිනාමජා ආබාධ
6. විසම පරිහාරජා ආබාධ
7. ඔපක්කමිකා ආබාධ
8. කම්ම විපාකජා ආබාධ

බුදු පියාණන් වහන්සේගේ දේශනාවකින් උන්වහන්සේට ඵල දුන්න කර්ම විපාක පිළිබඳව දැනගන්න නොලැබුනා නම්, දෙව්දත් ථෙර කරපු උපක්‍රමයෙන් ගල් පතුරක් වැදිල ශ්‍රී පාදයේ මහපටගිල්ල තැලීම ඔපක්කමික ආබාධයක් විදිහට පෙන්වන්න පුළුවන්. ඒ වගේම පිටේ නිතර ඇති වූ රුදාව වාත සමුට්ඨාන ආබාධයක් විදිහට හිතෙන්න පුළුවන්. පාදයේ ලේ දූෂ්‍ය වීමෙන් වූ කළු වීම (දූෂ්‍ය වීම යන්නෙන් තැල්ම නිසා ලේ කැටි වීම අදහස් කෙරේ) පිත්ත සමුට්ඨාන ආබාධයක් විදිහට පෙනී යන්න පුළුවන්. නමුත් මේවාට කර්ම විපාක මුල් වෙලා තියෙන බව උන්වහන්සේගේ දේශනා තුලින්ම දැනගන්න පුළුවන්.

සතර මහා භූතයන්ගේ විෂමතාවයකින් තොරව කර්ම විපාකයක් ඵල දෙන්න ක්‍රමයක් නෑ. එහෙනම් කර්ම විපාකජ ආබාධයක් වෙන් කරල දැනගන්නෙ කොහොමද? හටගත්ත ආබාධයට මුල් වූ ප්‍රධාන කරුණ වාත විෂමතාවය නම් ඒක වාත සමුට්ඨාන ආබාධයක්. පිත දූෂ්‍ය වීම ප්‍රධාන කරුණ නම් ඒක පිත්ත සමුට්ඨානයක්. උපක්‍රමය ප්‍රධාන කරුණ නම් ඒක ඔපක්කමික ආබාධයක්. අචින්ත්‍ය වූ කර්ම බලවේගය ප්‍රධාන කරුණ නම් ඒක කර්ම විපාකජ ආබාධයක්. මේ කාරණය තවදුරටත් පැහැදිලි කරනව නම්, කෙනෙක් තව කෙනෙකුට අතින් පහර දෙනවා. ඒ වගේම ඊළඟට පොල්ලකින් පහර දෙනවා. දැන් දෙවෙනි අවස්ථාවෙදි පොල්ලකින් පහර දුන්නට පොලු කැල්ල අතින් අල්ලල තමයි පහර දුන්නෙ. හැබැයි අපි කියන්නෙ පොල්ලෙන් පහර දුන්න කියල. නමුත් අත මුල් වෙලා තමයි පොල්ලෙන් වුනත් පහර දුන්නෙ. ඒ වගේ මේ හැම විපාකයකටම කර්මය මුල් වෙනවා.

ලොව්තුරා බුදු වීමෙන් හෝ අරිහත්වයට පත්වීමෙන් හෝ සිද්ධ වෙන්නෙ එතැන් පටන් ඉදිරියට අවිද්‍යා ප්‍රත්‍යයෙන් හට ගන්නා පුණ්‍යාභි සංඛාර, අපුණ්‍යාභි සංඛාර, ආනෙඤ්ජාභි සංඛාර මතු කිසි විටෙකත් ඇති නොවෙන විදිහට සහමුලින්ම දුරු වෙලා යෑම. කුසල්, අකුසල්, විපාක යන සිත් කොටස් තුන තෝර ගන්නකොට අභිධර්මයේ වීථි සිත් පිළිබඳව මනා දැනීමක් තිබිය යුතුයි.

වැළ නොකැඩී එක දිගට පවතින සිතක් තියෙන විදිහට අපිට පෙනුනත්, සිත කියන්නෙ පිළිවෙලකට ක්‍රියාත්මක වන චිත්ත වීථි රැහැනක්. මේ චිත්ත වීථි රැහැන හැදෙන්නෙ පංචද්වාර සහ මනෝද්වාර චිත්ත වීථිවලින්. මීට අමතරව සිතක් පනවනව නම් ඊට හේතු පෙන්වන්න බෑ. ඉතා සුළු කාල පරාසයක් තරම් වූ මොහොතකදි වුනත් අධිවේගයෙන් සිද්ධ වෙන මේ චිත්ත ක්‍රියාවලිය ලොව්තුරා බුදුවරුන්ගේ අනාවරණ ඥානයටම ගෝචර වෙනවා. එතකොට ප්‍රත්‍යක්ෂයෙන් දැකල දැනගෙන දේශනා කළ ක්‍රම රටාව අනුව බලන්නෙ නැතිව සිත ගැන විග්‍රහ කරන්න ප්‍රයත්න දැරීම විහිළුවක්, මුළාවක්.

චක්ඛුද්වාර, සෝතද්වාර, ඝානද්වාර, ජිව්හාද්වාර, කායද්වාර චිත්ත වීථි කියන්නෙ පංචද්වාර චිත්ත වීථි. මේ එකිනෙක චිත්ත වීථි අතර අනුබද්ධ ආධාරක චිත්ත වීථි කියල චිත්තක්ෂණ දාහතක ආයුෂ තියෙන මනෝ ද්වාර චිත්ත වීථි තුන බැගින් ක්‍රියාත්මක වෙනවා.

චිත්තක්ෂණ දාහතක් ආයුෂ තියෙන මේ චිත්ත වීථි සප්ත රසායුෂ්ක කියල හඳුන්වනවා. පූර්ණ මනෝද්වාර චිත්ත වීථි ක්‍රියාත්මක වෙනකොට පංචේන්ද්‍රියන්ගේ සම්බන්ධතාවයක් නෑ. එහෙම ක්‍රියාත්මක වෙන්නෙ ධ්‍යාන සමාපත්ති, ඵල සමාපත්ති ආදියට සමවැදිල ඉන්න මොහොතක.

එහෙනම් මේ චිත්ත වීථි අතරින් චක්ඛුද්වාර ආදී වූ එක චිත්ත වීථියක් ක්‍රියාත්මක වන මොහොතකදි, ඒ චිත්ත වීථිය හැර වෙනත් කිසිම චිත්ත වීථියක් ක්‍රියාත්මක වෙන්නෙ නෑ. ඒ චිත්ත වීථියේ චිත්තක්ෂණ දාහතෙන් එක චිත්තක්ෂණයක් ක්‍රියාත්මක වෙනකොට, ඉතිරි චිත්තක්ෂණ දාසයම ක්‍රියාත්මක වෙන්නෙ නෑ.

ඒ නිසා සිතක වර්තමානය කියන්නෙ එක චිත්තක්ෂණයක ක්‍රියා මාත්‍රයක්. ඒ ක්ෂණයත් උප්පාද, ඨිති, භංග කියන මාත්‍රා තුනකින් සමන්විතයි. එතනදිත් උප්පාද අවස්ථාවේ ඉතිරි ක්ෂණ මාත්‍ර දෙක ක්‍රියාකාරී වෙන්නෙ නෑ.

චිත්තක්ෂණයක කාල වේලාව දක්වන්න නිවැරදි මිම්මක් නැති වුනත්, යම් වැටහීමක් ලබාගන්න මේ උදාහරණය තුලින් පුළුවන් වෙයි. චිත්තක්ෂණයක් කියන්නෙ අසුරු සැනෙකින් කෝටි ලක්ෂයෙන් පංගුවක් තරම් කාල මාත්‍රයක්. අසුරක් ගහන, නැත්නම් ඇසිපිය ගහන තරම් කාලයක මේ චිත්තක්ෂණ කෝටි ලක්ෂයක් තරම් ප්‍රමාණයක් නැගිල බිඳිල යනවා. පංචේන්ද්‍රියන්ගෙන් දැනීම් ලබමින් ඉන්න එබඳු මොහොතක, චක්ඛු ද්වාර... ආදී එක් එක් ඉන්ද්‍රියන්ගේ මුල් වීමෙන් නැගෙන චිත්ත වීථි ප්‍රමාණය කෝටි ගණනක්.



ඒ නිසා පෙනීම, ඇසීම, ගඳ සුවඳ දැනීම, රස දැනීම, ස්පර්ශය දැනීම, ඒවා පිළිබඳ සිතිවිලි සිතීම, එකම මොහොතක සිද්ධ වෙන දේ විදිහට රැවටීමකට ගොදුරු වෙන්න පුළුවන්. **විදුලි බල්බයක් තත්පරයකදි 54 වාරයක් නිවී නිවී දැල්වුනත්, අපේ ඇස්වලට පේන්නෙ ඒක අඛණ්ඩව දැල්වෙන විදිහට. ඒ ආකාරයෙන් සියල්ල වෙන වෙනම සිද්ධ වුනත්, අපි හිතන්නෙ එකවිට සිද්ධ වෙන ක්‍රියාවන් කියල. සිත පිළිබඳ විශ්ලේෂණයත් මේ ආකාරයෙන් දුෂ්කර කටයුත්තක්.**

පංචද්වාරයක එක් චිත්ත වීථියක් හැදෙන්නෙ මේ විදිහට.

1. අතීත භවාංග
2. භවාංග චලන
3. භවාංග උපච්ඡේද
4. පංචද්වාර ආවර්ජන
5. ඒ ඒ ඉන්ද්‍රිය අනුව චක්ඛු විඤ්ඤාණ... ආදී වශයෙන් එන ක්ෂණයක්
6. සම්පටිච්චන
7. සංතීරණ
8. වොත්ථපන

9 - 15 ජවන

16 - 17 තදාලම්භන

මේ අතිමහන්තාරම්මන නම් වූ පංචද්වාර චිත්ත වීථියක්. (මේ පිළිබඳ විස්තරයක් හෙළ බොදු පියුම 25 කලාපයේ පළ කරල තියෙනවා) ඉතා පැහැදිලිව ඇසෙන් රූප දකින, කනින් ශබ්ද අහන... ආදී මොහොතක මෙබඳු චිත්ත වීථි පහල වෙනවා. මේ වීථි ක්‍රමයට ක්‍රියාත්මක වන බැලීම, ඇසීම... ආදිය කරන ක්‍රමය හැර, මේ චිත්ත නියමයට පටහැනිව කාටවත් දැනීමක් හෝ සිතක් හෝ පහල වෙන්නෙ නෑ. බුදුවරුන්ට, රහතුන්ට නමුත් සිත් පහල වෙන්නෙ මේ ක්‍රමයට.

අරිහත්වයේදි සිද්ධ වෙන්නෙ මේ නියමය වෙනස් වීමක් නෙවෙයි. ඒ සමග යෙදුන අවිද්‍යා සහගත ඡන්ද රාගය දුරු වීම. මේ චිත්ත වීථියක විපාක සිත්වලට අයිති වෙන්නෙ සම්පටිච්චන සහ සංතීරණ කියන චිත්තක්ෂණ දෙක. එයින් නැගෙන වේදනා සහ සංඥා චෛතසික දෙක සැප හෝ දුක හඟවන චෛතසික වෙනවා. ඒ විපාක විදිහට විඳින්න සිද්ධ වෙන දුක සැප දෙක අරිහත්වයට පත් වුනත් විඳින්න සිද්ධ වෙනවා. නමුත් අරිහත්වයේදි අවිද්‍යා තණ්හා දුරු කළ නිසා ඒවායේ ඇලීමට, ගැටීමට, මුළාවට වැටීමක් කිසි විටෙකත් සිද්ධ වෙන්නෙ නෑ.

මීළඟට චිත්ත වීථියේ 8 වැනි ස්ථානයේ තියෙන වොත්ථපන නම් චිත්තක්ෂණය උදා වෙනවා. ඒකෙන් සිද්ධ කරන්නෙ ලැබූ දුක හෝ සැප පිළිබඳව ඉදිරියට ගත යුතු පියවර පිළිබඳ නිශ්චය කිරීම. ඒක හැමෝගෙම ක්‍රියා සිතක්. සාමාන්‍ය ලෝකයා ඇලීමෙන්, ගැටීමෙන්, මුළාවෙන් ඉදිරි කටයුතු කළ යුතු ආකාරය පිළිබඳව කිසියම් තීරණයකට බැස ගන්නවා. ඒ අනුව සිතිවිලි, ක්‍රියා, කතා කළ යුතු ආකාරයට ජවය නිපදවන සිත් පෙළක් ඉදිරි චිත්තක්ෂණ හතකින් ක්‍රියාත්මක කරනවා. ඒ තමයි ජවන සිත් හත. මතු පුනර්භවයට කර්ම බීජ ගොඩනගන්නෙ මේ ජවන් සිත් හත මගින්. අවිද්‍යා ප්‍රත්‍යයෙන් ගොඩනැගෙන පුණ්‍යාභි සංඛාර, අපුඤ්ඤාභි සංඛාර, ආනෙඤ්ජාභි සංඛාර විදිහට මේවා හඳුන්වනවා. සත්ත්වයා කර්ම ජනිත කරන්නෙ මේ ජවන සිත් හත තුලින්.

අරිහතුන් වහන්සේටත් චිත්ත වීථියේ වොත්ථපන චිත්තක්ෂණය ඒ විදිහටම පහල වෙනවා. ප්‍රඥා චෛතසිකය අග්‍ර වූ උන්වහන්සේලාට ඇලීම, ගැටීම, මුළාව මුල් කරගත් මානසිකත්වයක් නැති නිසා, ඒ සඳහා සිතිවිලි, ක්‍රියා වදන් ක්‍රියා කරවන ජවයක් පහල වෙන්නෙ නෑ. ඒ නිසා අකම්පාභාවයම මුල් කරගත්ත ප්‍රඥා චෛතසිකය පෙරටුගාමී වෙනවා. අවිද්‍යා තෘෂ්ණාවෙන් මිදුන සිත, කය, වචනය ක්‍රියාවට පමණක් සීමා වූ ජවන් සිත් හතක් උන්වහන්සේලාට පහල වෙනවා. ඒ නිසා මේවාට ක්‍රියා ජවන යන නම භාවිතා කරනවා. මතු පුනර්භවයට කර්ම බලය නිපදවන්නෙ නැති නිසා ඒ ප්‍රඥා චෛතසික කර්මක්ෂයකරවි ඥානය කියල හඳුන්වනවා.

අරිහත් ඵල නුවණින් සිද්ධ කරන්නෙ, එතැන් පටන් මතුවට පුනර්භවය සිද්ධ කරන කර්ම ක්ෂය වීම. මේක අතීතයේ සිද්ධ කළ කර්මවල විපාක ක්ෂය කරන ඥානයක් නෙවෙයි. **සසර බොහෝ කාලයක පටන් කරන ලද පුණ්‍ය සහ පාප කර්ම අතර විපාක නොදුන් කර්මත් හැමදෙනාටම අප්‍රමාණයි. බරපතලම කර්ම හැර, සාමාන්‍ය කර්ම විපාක දෙන්න පසුතලයක් සකස් වෙලා තිබිය යුතුයි.** සතර අපාගත වෙන්න හේතු කාරක තියෙන කෙනෙක් කොච්චර පාප කර්ම තිබුනත්, මිනිසත් බව ඊට පසුතලය නොවන නිසා, මනුස්සයෙක් වශයෙන් දිවි ගෙවන කල් ඒවා විපාක විදිහට ක්‍රියාත්මක වෙන්නෙ නෑ. ඒ වගේම කාම ලෝකයේදි විඳින්න තියෙන කර්ම විපාකයක්, බඹ ලොව ඉන්න බ්‍රහ්මයෙකුට බඹ ලොව ඉන්න කල් පසුතලය නොගැලපෙන නිසා විපාක දෙන්නෙ නෑ. මනුස්සයා ලෝභ, ද්වේශ, මෝහ සහිත තමන්ගෙ ගත හිත මෙහෙයවල පසුතලයක් හදාගත්තොත්, ඒකට අනුකූල පාප කර්ම විපාක දෙන්න ඇඳිල එනවා.

# පටිච්ච සමුප්පාදය තුළින් නිවන් දැකීම...



**(පසුගිය කලාපයෙන් - මොනවද මේ සළායතන)**

"වේදනාවෙන් තණ්හා වේ. වේදනා නිරෝධයෙන් තණ්හා නිරෝධ වේ."

තණ්හාව කියන්නෙ යම් තැනක හාවීම. ඒ කියන්නෙ යම් සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු කෙරෙහි සිත් අරගෙන ඇලෙන බව. වේදනා විඳිනකොට සැප වේදනා කියල ප්‍රිය මධුර ස්වභාවයක් ඒ ඒ නාම රූපයන් කෙරෙහි හෝ නාමයන් කෙරෙහිත්, රූපයන් කෙරෙහිත් දකිනවා. අන්න ඒ ආස්වාද වින්දනය කාමය සමග යෙදෙනව නම් කාම තණ්හා වෙනවා. ඒ ආස්වාද වින්දනය භව පැවැත්මට වෙනව නම් භව තණ්හා වෙනවා. නියත මිත්‍යා දෘෂ්ටිය නිසා මිත්‍යා දෘෂ්ටි ඇසුරක් වෙනව නම් විභව තණ්හා වෙනවා. මේ පංචස්කන්ධ සංඛ්‍යාත සහිත සත්ත්වයා මේ ස්වභාවයන් ප්‍රිය මධුර ආස්වාද විදිහට දකල ඒවායේ ඇලෙනවා, තණ්හා වෙනවා.

මේ හැම ආස්වාද සහිත වින්දනයක්ම සසර සැරිසරන සත්ත්වයන්ගේ සෙවීම්වලට, ඇලීම්වලට, වසඟයේ තියන්න කරන උත්සාහයන්ට ගොදුරු වෙනවා. මේ ආස්වාද බලාපොරොත්තුව නිසා ලෝකයේ ප්‍රිය මධුර ස්වභාවය ඇතිව විද්‍යමාන වන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන මේවා කෙරෙහි මහත් තණ්හාවක් සත්ත්ව සන්තානයේ පහල වෙනවා. ඒවා තමන් වසඟයට ගන්න, පවත්වන්න උත්සාහ කරනවා. අනෙකගෙන් උදුර ගන්නවා. කොටු කරගන්නවා. වැඩිපුර තියෙන අය උද්දාම වෙනවා. උච්ච මානයට වැටෙනවා. ඒ වගේම ඒවාට ලොකු වටිනාකමක් දීල තියෙන නිසා, ඒ සම්පත් හීන අය පරාජිත ගතියට වැටෙනවා. හීන මානයට වැටෙනවා. මහත් වටිනා වස්තු කියල හිතාගෙන හිත බැඳුනම කෙනෙක් පොර කනවා. තව කෙනෙක් උපායන් යොදනවා. තව කෙනෙක් ප්‍රලාප දොඩනවා. නැති පුරසාරම් කියමින් ආස්වාද ලබනවා. ප්‍රලාපය ඇසුරු කරනවා. සැඩපරුෂ වෙනවා. ගැටෙනවා. ඉරිසියා කරනවා. වෛර කරනවා. කෙනෙක් බිඳවන්න කේළාම් කියනවා. නොයෙක් මතවලට බහිනවා. මත දරනවා. ඒ මත මිත්‍යා වෙන්නත් පුළුවන්. එහෙම වුනොත් හරි භයානකයි. නමුත් මතය අත්හරින්නෙ නෑ. ඒක තමන්ට වැටහෙන ආකාරයෙන් සත්‍යයි කියල මුසාවට බැහැගන්නවා. මුසාවාදය නගනවා. මොට වූ මුළා වූ බව අධික වෙනවා.

මුළාව නිසා ප්‍රිය මධුර බවේ, ආස්වාදයේ ඇලිල ගැලිල යනවා. කාමයන්ගේ කිඳා බහිනවා. හරි වැරදි පේන්නෙ නැතිව යනවා. යුතු අයුතුකම් පේන්නෙ නැතිව යනවා. ලැජ්ජා බය නැති වෙනවා. මිත්‍යා හැසිරීම් මගින් කාමය භුක්ති විඳිනවා. මේ ප්‍රිය මධුර ස්වභාවය තියෙන වස්තු හොරෙන් බලෙන් මංකොල්ලයෙන් පැහැරගෙන භුක්ති විඳිනවා. ගැටීම්වලට, කෝලාහලවලට නැමී සිටිනවා. අනුන්ට හිංසා කරනවා. ඝාතනය කරනවා. වනසනවා. මේ විදිහට ආස්වාදයන්ට ගිජු වෙලා අයුතුකමින් වින්දනය කිරීමේ කටයුතුවල ඇලෙනවා. ඒ ඒ තැන්වල මේ විදිහටත් හාවෙනවා, ඇලෙනවා, තණ්හා වෙනවා. දැන් මේ කියන කාරණා සියල්ලම අද සමාජයේ හොඳින්ම පේන්න තියෙන දේවල්. දහම් අවබෝධයක් තියෙන අයට මේ ක්‍රම රටාව හොඳින්ම වැටහෙනවා.

මේ ආකාරයට සැප වේදනාව බලාපොරොත්තු වීම නිසා දුක් වේදනාත් එනවා. කෙනෙක්

›

---

අරිහත්වයෙන් පසු උන්වහන්සේලාට එබඳු මානසික පරිසරයක් කිසිවිටෙක ඇති නොවන නිසා, එබඳු විපාක ඵලයක් අත් විඳින්න ලැබෙන්නෙ නෑ. එහෙම සිද්ධ වෙන්නෙ, විපාක ක්ෂය කළ නිසා නෙවෙයි, පසුතලය සකස් නොවන නිසා. නමුත් ආර්ය උතුමන්ට, බෝසත් උතුමන්ට (ශ්‍රාවක පාරමිතා පුරන අය සහ මහ ඍෂිවරුන්ද ඇතුලත්ව), දෙමව්පියන්ට අවැඩ කිරීමෙන් ජනිත වන පාප කර්ම, අවකාශය ලද අවස්ථාවක පරිසරය ගොඩනගාගෙනම විපාක දෙන්න සමත් වෙනවා.

අරිහත් උතුමන්ගේ මානසිකත්වය එබඳු පරිසරයක් ගොඩනැගුවෙ නැතත්, බාහිර පුද්ගල විපර්යාස, කාලගුණ දේශගුණ විපර්යාස... ආදියෙන් ගොඩ නැගෙන බාහිර පරිසරයකට එබඳු මහත්ගත පුණ්‍ය පාප කර්ම ඇදිල ඇවිත් ක්‍රියාත්මක වෙන්න පුළුවන්. බුදුවරයන් වහන්සේලාට, අරිහතුන් වහන්සේලාට ඵල දෙන්නෙ එබඳු අල්ප මාත්‍ර කර්ම ශේෂයන්. මෙත් සිත් පතුරුවන උතුමන්ටත් කාමාවචර කර්ම ඵල දෙන්න තියෙන අවස්ථා දුරස් වන නිසා, ප්‍රයෝග සම්පත්තිය ප්‍රයෝජනයට අරගෙන කර්ම විපාක බොහෝ දුරට වළක්වා ගන්න පුළුවන්.

ඒ නිසා කර්මයට වහල් වෙලා, කර්මයට ඉඩ දීල උකටලී වීම මෝඩකමක්. කුසලයේ පිහිටල මෙත්තා සහගත කාය කර්ම, වචී කර්ම, මනෝ කර්ම සිද්ධ කිරීම පාප කර්ම බලවේග ගෙවා හැරල ජය වඩන මගක් බව තේරුම් ගත යුතුයි. ඒ වගේම මේ සසර තවදුරටත් සැරිසැරීම කොච්චර නම් භයානකද කියන කාරණයත් තේරුම්ගත යුතුයි.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ :*

**ගන්තුනේ මෙරිල් ප්‍රනාන්දු**
**ජාතික ගොඩනැගිලි පර්යේෂණ සංවිධානය**

මේ ආදීනව දැනගෙන, ලෞකික වූ ආස්වාදයන් කෙරෙහි වටිනා ස්වභාවයෙන් පිහිටි අදහස වෙනස් නොකරම, ආදීනව නිසා කලකිරිල පොරකන්න කැමති නැතිව පැත්තකට වෙනවා. ඒ විදිහට ඉන්නකොටත් උපේක්ෂා ස්වභාවයක් වෙනවා. සැප වේදනා දනවන ස්පර්ශ හොයනකොට නිතැනින්ම දුක් වේදනාත්, මධ්‍යස්ථ වේදනාත් විඳින ස්පර්ශ ලැබීම ස්වභාවයක් වෙනවා. මේ විදිහට ස්පර්ශ ප්‍රත්‍ය කරගෙන, හේතු කරගෙන වේදනා වෙනව මිසක් වෙන ක්‍රමයකින් වෙන්නෙ නෑ.

මේ වේදනා නිසා ඇලුම් කිරීම වුනොත් ඒ ඒ තැන්වල ඇලීම හෙවත් තණ්හා වෙනවා. එතකොට ඒ ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්තිවල බැඳීම හෙවත් උපාදාන වෙනවා. ඒ හේතුවෙන් මතු බලාපොරොත්තු ඇති කරමින්, පහල කිරීමට හේතු ශක්ති ඇති කරමින් භවය වෙනවා. ඒ හේතුකොටගෙන ඒ ඒ නාමරූපවලට අනුරූප වූ ජාති හට ගන්නවා. හට ගත්ත ජාතියක් වෙනවද, මොහොතින් මොහොත ගෙවී ගෙවී ගිහින් විනාසයට පත්වීම ධර්මතාවය වූ, ඒ ධර්මතාවයේ වහල් බවට ගොදුරු බවට පත්වන ස්වභාවය ඒකාන්තයෙන් උරුම කරගෙන ඒ සියල්ල පහල වෙනවා. වහල් බවට ගොදුරු බවට පත්වෙමින් කිසිම ක්‍රමයකින් වළක්වන්න බැරි විදිහට විනාස වෙනවා. යම් තාක් ඇලුම් කිරීමක් ඇත්ද, පහල වූ ජාති නිසා වන ජරා ජාති, ව්‍යාධි ජාති, මරණ ජාති... ආදියත් පහල වෙනවා. මේ විදිහට වැනසෙනකොට සෝක, පරිදේව, කායික දුක්, මානසික දුක්, දොම්නස්, උපායාස, හැඬීම්, වැළපීම්, දෙඩීම්, ළය පැරවීම්... ආදී අනේකවිධ දුක් පහල වෙනවා.

මේ වේදනාවලට ඇලෙන්නෙ නැත්ද, තණ්හාව නිරෝධ වෙනවා. එතකොට බැඳීම් නෑ. මතු බලාපොරොත්තුත් නෑ. මතු පහල කරන ශක්තිය හට ගන්නෙත් නෑ. ඒ නිසා මතු ජාති හට ගැනීමක් නෑ. එතකොට ඉහත කියපු එකම දුකක්වත් නෑ.

මේ ආකාරයට වේදනාවේ ස්වභාවය දැනගන්නවා. තණ්හාවේ තතුත් දැනගන්නවා. හට ගන්නා ආකාරයත් දැනගන්නවා. නිරෝධ වෙනකොට ස්වභාවයත් දැනගන්නවා. නිරෝධ කරන මාර්ගයත් දැනගන්නවා. පරම සත්‍යය අනුව මේ ගැන නිතර මෙනෙහි කරනවද, එතකොට හරියාකාරව දකිනවා. අවබෝධය පූර්ණ වෙනවා. එතකොට වේදනාවේ කලකිරෙනවා. තණ්හාවෙත් කලකිරෙනවා. කලකිරෙනකොට ඇල්ම අත්හැරෙනවා. අත්හැරෙනකොට ඇලෙන්නෙ නැතිව යනවා. ඇලෙන්නෙ නැතිවෙන කොට මිදෙනවා. මිදුනම පරම සත්‍යය දකල තියෙන නිසා ඒ සත්‍යය අතීතයෙත්, අනාගතයෙත්, වර්තමානයෙත් වෙනසක් වෙන්නෙ නැති බවත්, සදාතනික දහමක් බවත් දැනගන්නවා. කෙළෙස් අනුසය සිඳෙනවා. මතු හට නොගන්නා බවත් දකිනවා. අත්බැව කෙළවර වෙන දවසක් එනවද, සියලු දුක් කඳ කෙළවරයි. නිවන් ප්‍රත්‍යක්ෂ කරල දුක් කෙළවර කරනවා. මේකත් නිවන් මගක්. හේතුඵල සහිතයි. හේතු නිරෝධ ඵල නිරෝධ සහිතයි. විද්‍යානුකූලයි. ඒකාන්තයෙන් මගඵල ලැබීම සිද්ධ වෙනවා. නිවන් දකිනවා.

"තණ්හා ප්‍රත්‍යයෙන් උපාදාන වේ. තණ්හා නිරෝධයෙන් උපාදාන නිරෝධ වේ." සත්ත්වයා ලෝකයේ මොකකට ඇලෙනවද? කොහොම බැඳෙනවද? සත්ත්වයා ලෝකයට ඇලුම් කරනවා. ලෝකයේ තියෙන්නෙ මොනවද? නාමරූප හෙවත් ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති පහල කරන, සතර මහා භූත ඇසුරු කරන සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු වශයෙන් රූප ධර්මත්, ඒවායෙන් ආකාර, ලිංග, නිමිති... ආදී වශයෙන් ගත්තම නැගෙන වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ වශයෙන් චිත්තක්ෂණයක ආයුස තියෙන නාම ධර්මත්, ඒවායේ අතීත මතක සටහන් හෙවත් නාම ගෝත්‍රත්, මනෝ ධාතුවත් කියන මේ සියල්ල ලෞකිකත්වයට අයිතියි. නැත්නම් කාම, රූප, අරූප යන තුන් භවය හා සම්බන්ධයි.

මේ කොයි තැනක හෝ ඇලෙනවද, ඇලීමෙන් ඇසුරු කරනවද, එතැන බැඳෙනවා. ලෝකයේ තියෙන ප්‍රිය මනාප මධුර බව නිසාම ඇලීම ඇතිවෙනවා. විඳීමට බැහැගන්නකොට ඇලීම වෙනවා. ඇලුම් කරනකොට තමන් එතැනට ඇදෙනවා. නැත්නම් ඇලුම් කරන දේ තමන් ළඟට ඇද ගන්නවා. ඉවත් කරන්න බැරි බවත්, එහෙම ඉවත් නොකරන විදිහට රැඳෙන බැඳෙන බවත් පේනවා, දැනෙනවා. කොච්චර දුක් ගිනි ආවත්, දාහ සෝක ආවත්, ඒවාට ප්‍රතිකර්ම හොයමින් වෙහෙසෙමින් ඉවත නොදමා රැකගන්න උත්සාහ කරනවා.

ඇලීම පර්යේෂණ සහගතයි. ඒ නිසා හොයනවා. පර්යේෂණ කරනකොට ලැබෙනවා, හමුවෙනවා. එතකොට ගෝචර සහගතයි. හමු වුනාම උපාදාන හෙවත් බැඳීම වෙනවා. සත්ත්ව විෂය, ලෝක විෂය, චිත්ත විෂය... ආදිය ගැන ආස්වාදය බලාපොරොත්තුවෙන් හොයනවා. කාමයෝ ප්‍රියයි, මධුරයි, මනාපයි කියලත් හොයනවා. දිවට ගෝචර රසය, නාසයට ගෝචර ගන්ධය, ශරීරයට ගෝචර ස්පර්ශය ගැන හොයනවා. ඒ ගැන අහනවා, බලනවා. කාම තණ්හාව මූලික වෙනවා. මේක හැදෙන්නෙ කොහොමද, මේකෙ ක්‍රියා රටාව කොහොමද, මේ මොන භාෂාවක්ද... ආදිය ආස්වාද වශයෙන් සෙවීමත්, නවීන විද්‍යා පර්යේෂණ කරමින් ආස්වාද වශයෙන් හට ගන්නා හැටි, වැනසෙන හැටි සෙවීමත් භව තණ්හා වෙනවා. මේ මිත්‍යා වූ නිස්සාර වූ දුක් සහිත බවින් මිදීමට හේතු නොවූ, අනාර්ය වූ මතයන්ට, නිගමනයන්ට බැහැගෙන ඒවායේ රැඳී සිටින්න, ඒවා තමන්ට අවනත කරගන්න ආසා කිරීම සහ මිත්‍යා දෘෂ්ටිගතව වින්දනය ලැබීම විභව තණ්හා වෙනවා. මේ ආසාවන්ට ගෝචර වූ අරමුණක් හමුවෙනකොට තමන් වසඟයේ බැඳගන්නවා. තමනුත් ඒකෙ බැඳෙනවා. එතකොට තමනුත් එතැනමයි. නැත්නම් එතැන තමන් වසඟයට ගන්නවා. මේ තමයි උපාදානය.

මේ විදිහට උපාදානය හෙවත් බැඳීම වුනාද, ඒ සමග ඉදිරියට පැවැත්වීමේ මහත් බලාපොරොත්තු ඇතිවෙනවා. හට ගන්වන ශක්තිය බිහි වෙනවා. නාම ශක්තිය මනෝ ධාතුවෙන් ඇදගෙන පහල කරන්න කටයුතු සැලසෙනවා. අනුරූපයන් ගතියට අනුව පහල කරනවා. එයින් හට ගැනීම හෙවත් ජාති බිහි වෙනවා. කාම ජාති, රූප ජාති, අරූප ජාති බිහි කරනවා. උපාදාන ජාති, භව ජාති, හට ගැනීමේ ජාති ඇතිවෙනවා. එතකොට මොහොතින් මොහොත ගෙවී ගෙවී ගිහින් විනාසයට පත්වීමේ ලෝක ධර්මතාවයට වහල් වෙලා ගොදුරු වෙලා ඒ සියලු ජාති පහල වෙනවා. වහල් බවේම, ගොදුරු බවේම ක්‍රියාත්මක වෙලා මොහොතින් මොහොත ගෙවී ගෙවී යනවා. වැනසිලා යනවා. ඇලීම තියෙන නිසා, බැඳීම් සහිත නිසා ඒවා ලෝක ධර්මතාවයේ වහල් බවින්, ගොදුරු බවින් මුදා ගන්න නොයෙක් ආකාරයේ උත්සාහ දරනවා. ඒ සියලු උත්සාහයන් අසාර්ථක කරමින් ජරාවට පත්වෙලා වැහැරිලා වැනසිලා යනවා. එතකොට සෝක වෙනවා, දැවෙනවා, තැවෙනවා, හඬනවා, වැළපෙනවා, කායිකව



මානසිකව දුක් වෙනවා, කම්පා වෙනවා. මේ විදිහට දුකම හට ගන්නවා.

ලෝක ධර්මතා ක්‍රියාවලියේ ස්වභාවය වටහාගෙන අනිච්ච, දුක්ඛ, අනාත බව දකිනවද, නිස්සාර බව නිරර්ථක බව දකිනවද, ඇසුරු කිරීම දුක බව දකිනවා. මනසින් අත්හැරෙනකොට ඇතිවෙන ස්වභාවය, සංසිඳීමේ සුවය දකිනවා.

මේ විදිහට උපාදානය තේරුම් ගන්නවා. ලෝකයේ පැවැත්මට හේතුව තේරුම් ගන්නවා. නිරෝධ ස්වභාවය තේරුම් ගන්නවා. නිරෝධ මාර්ගය දැනගන්නවා. දවසින් දවස මේ දැනීම අනුව බලනවද, හරියට දැකීම වෙනවා. අවබෝධය ප්‍රබල වෙනවා. උපාදානයේ කලකිරෙනවා. කලකිරෙනකොට අත්හැරෙනවා. අත්හැරෙනකොට ඇලෙන්නෙ නැතිව යනවා. එතකොට මිදෙනවා. මිදුනම පරම සත්‍යය දකල ප්‍රත්‍යක්ෂ කළ බවත්, අනුසය කෙළෙස් ප්‍රහීන බවත් දකල, ප්‍රත්‍යක්ෂ කළ පරම සත්‍යය අතීත, අනාගත, වර්තමාන යන හැම කාලයේම සත්‍යයක්ම නිසා, මතු හටගන්න හේතු නැති බවත් දකිනවා. අත්බැව කෙළවර වුනාද එයින් එහාට හට ගැනීමක් නෑ. දුක් කඳම කෙළවරයි. නිවන පූර්ණයි. මේ සත්‍යයක්. හේතුඵල සහිතයි. හේතු නිරෝධ ඵල නිරෝධ සහිතයි. විද්‍යානුකූලයි. අනුගමනයෙන් ඒකාන්තයෙන් මගඵල ලබනවා. පූර්ණ කරල නිවන් ප්‍රත්‍යක්ෂ කරනවා.

"උපාදාන ප්‍රත්‍යයෙන් භව වේ. උපාදාන නිරෝධයෙන් භව නිරෝධ වේ." භව කියන්නෙ පහල වීම. කාමය පිළිබඳ පහල වීමේ ක්‍රියාවලිය කාම භවය වෙනවා. රූප ලෝකය පිළිබඳ පහල වීමේ ක්‍රියාවලිය රූප භවය වෙනවා. අරූප ලෝකය පිළිබඳ පහල වීමේ ක්‍රියාවලිය අරූප භවය වෙනවා. මේ ලෞකික වූ ලෝක ක්‍රියාවලියේ පහල වීම් භව නමින් හඳුන්වනවා.

යම් ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්තිවල පූර්ණ බවක් වෙනවද, අනුකූල හට ගැනීමක් වෙනවද ඒ ජාතියක්. හිත මුල් කරගෙන පූර්ණ වෙනවද හිත් ජාති වෙනවා. යම් කිසි රූපයන්ගේ එබඳු පූර්ණ බවක් වුනාද රූප ජාති වෙනවා. පහල කරන අතරමැදි අවස්ථා වුනාද භව ජාති වෙනවා. මේවා ආකාර, ලිංග... ආදී නාම රූප ධර්මයන්ගේ ගෝචර කර ගැනීමෙන්ම, ඒවායේ බැඳීමෙන්ම හට ගත්ත ශක්ති අනුරූපයන් පහල කරන්න හැඩ ගැසිල ක්‍රියාත්මක වෙනවද, ඒ ඒ ජාතිවල උපතට හේතු වෙන්නෙ මේ භව කියන ස්වභාවය.

මෙතනදි මේ භව තත්ත්වයේ ගුණයෙන් මනෝ ධාතුවේ ශක්තිය ඇදගෙන අනුරූප ජාති පහල කරන්න ක්‍රියා බලය පහල කරනවා. සජීවී අජීවී සියලු ජාතිවල මුල හට ගැන්වීමේ ක්‍රියා ධාතුව මේ භව නමින් හඳුන්වනවා. ගෙවල් ජාති, විමාන ජාති... ආදිය පහල වීමත් මේ විදිහට සිද්ධ වෙනවා. **අනේපිඬු සිටුතුමාට තව්තිසා දෙව්ලොව රිදී විමානයක් ජේතවනාරාමයේ ආකාරයට පහල වුන බවත්, අනුමෝදනා පින නිසා දුගියෙකුට ඊට ඉහලින් එබඳුම රන් විමානයක් පහල වුන බවත්** දහම් පොත්වල සඳහන් වෙනවා. ඒ විමන් පහල වෙලා තියෙන බව අනේපිඬු සිටුතුමත්, මහත් වූ පැහැදීමෙන් සාධුකාර දෙමින් අනුමෝදන් වූ දුගියත් දැනගෙන හිටියෙ නෑ. ඒ දෙන්නම ඒ කාලයේ මනුස්ස ලෝකයේ මනුස්සයො විදිහට හිටියෙ. ඒ පුණ්‍ය ප්‍රබෝධය තියෙන චිත්තයක උපාදානයේ ප්‍රතිඵලයක්.

**කොච්චර සූක්ෂම වුනත් ආපෝ ධාතුවක, තේජෝ ධාතුවක, වායෝ ධාතුවක, පඨවි ධාතුවක ආවේණික කියල ශක්ති විශේෂයක් නෑ.** නවීන විද්‍යා සම්මත පරමාණුවේ බිඳීමෙන් ඉලෙක්ට්‍රෝන, ප්‍රෝටෝන, නියුට්‍රෝන කියල වෙන් වුනත්, ඒවත් ඇල්ෆා, ගැමා, බීටා... ආදී නම්වලින් හඳුන්වන විදිහට සියුම් වුනත්, ලේසර් කිරණ කියල සියුම් වුනත්, ඒ සියල්ල සියුම් රූප ධාතුමයි. අවසාන වශයෙන් ගත්තම ඒ කිසිවකට ආවේණික කියල ශක්තියක් නෑ. **ස්වභාවයෙන් ඒ සියල්ල අක්‍රියයි. අනන්ත වූ මනෝ ධාතුවේ පිහිටල තියෙන මේ සියලු රූප කලාපයන්ගෙන් එකම රූප මාත්‍රයකටවත් ඉවත් වෙලා තනියෙන් ඉන්න ඉඩක්, ස්ථානයක් නෑ.** සියල්ල මේ භව චක්‍රයට ගොදුරු වෙලා, භව ගතියේ ස්වභාවයට ගෝචර මනෝ ධාතුවේ ක්‍රියා ශක්තිය ඇදගෙන කරන පහල කිරීම්වලට ගොදුරු වෙලා තියෙනවා.

ආකාර, ලිංග, නිමිති... ආදී වූ නාමරූප ධර්මයන් යම් විදිහකට ඇලීමෙන් බැඳීමෙන් අරගෙන තියෙනවද, එයින් සංඛාරත්, එයින් විඤ්ඤාණත්, එයින් නාමරූප සුදුසු පරිදිත්, එයින් සළායතනත් පහල කරනවා. මේ එකිනෙකටත් සූක්ෂම පටිච්ච සමුප්පාද චක්‍ර ක්‍රියාත්මක වෙනවා. ඒ වගේම පහල වෙලා තියෙන ආයතනයන් ඇස - රූප, කන - ශබ්ද... ආදී විදිහට ක්‍රියා කරනකොට ස්පර්ශත්, එයින් වේදනාත්, එයින් තණ්හාත්, එයින් උපාදානත්, එයින් භවත්, එයින් ජාතිත් පහල කරනවා. ජාති පහල කළාම භව ශක්තියේ කටයුතු කෙළවරයි. ඉන්පසු ඒවායේ ශක්තිය විපරිනාම රූප පහල කරමින් වෙනස් වෙලා යනවා. විපරිනාම රූපත් එක්තරා විදිහකට ජාති කොටස්. ඒ ජාති කොටස්වලදිත් භව ශක්තිය ක්‍රියා කරනවා. අති සූක්ෂම පරමාණුවේ පටන් ක්‍රමයෙන් ලොකු ලොකු දේ භව ශක්ති ක්‍රියාවලියේ ප්‍රතිඵල විදිහට පහල වෙනවා. මේ ශක්ති ක්‍රියාකාරීත්වය අති සූක්ෂම පරමාණුවෙදි අධිවේගී වූ අධි බලයකින් ක්‍රියා කරල ඊට වඩා ලොකු රූප කලාප නිපදවනවා. ඒ එක ජාතියක්. ඒ ජාතිත් ඊට වඩා අඩුවේගී අඩු බලයකින් ක්‍රියාත්මක වන භව ශක්තියකින් ක්‍රියා කරල, ඊට වඩා ලොකු රූප කලාප නිපදවනවා. ඒකත් එක ජාතියක්. ඒ ජාතිත් තවත් ජාති සමග එකතු වෙලා, පෙරට වඩා අඩු වේගයකින් අඩු බලයකින් යුතු භව ශක්තියක ක්‍රියාවලියකින් ඊට වඩා ලොකු ජාති නිපදවනවා. ඒ තවත් ජාතියක්.

මේ විදිහට කොතෙක් ලොකු රූප කලාප ජනිත කළත්, භව පච්චයා ජාති කියන රටාව මිසක් වෙනකකින්

ඒකසිද්ධවෙන්නෙනෑ.යම්විටකඋපාදාන පච්චයා භව කියන තැනදි, ලෝකයේ තියෙන අති මහත්ම, අධිවේගීම, අධි බලැතිම ශක්තියෙන්, නියම විදිහට බුදුන් වහන්සේ දකපු පරමාණුව අනුරූපයට සවිවන ක්‍රියාවලියට එක් කරනකොට මනෝ ධාතුවෙන් ශක්තිය ඇදගෙන ක්‍රියාත්මක කරනවා. ඒ තමයි චිත්ත බලය. මහා සෘද්ධි බල තියෙන උතුමෙකුට සක්වළත් කම්පා කරන්න පුළුවන් කියන්නෙ මේ නිසා. බුදුන් වහන්සේගේ අනන්ත වූ මේ චිත්ත බල ක්‍රියාවලියට දස දහසක් වූ සක්වළ වුනත් කම්පා කරන්න පුළුවන් බව කියනවා. කෝටි ලක්‍ෂයක් සක්වළ ආඥා පතුරවන්න පුළුවන් බවත් දේශනාවේ සඳහන් වෙනවා.

බඹර පෙත්තක් කරකවන කෙනෙක්, ඊට අතින් වේගයක් දීල නැවැත්තුව නම්, දුන්න ශක්තිය තියෙන කල් ප්‍රතික්‍රියා විදිහට බඹර පෙත්ත කරකැවෙනවා. පළමු වටය තමයි වේගයේ අධිබල අවස්ථාව. දෙවන වටය ඊට අඩුයි. මේ විදිහට වටයෙන් වටය අඩු වෙලා, අන්තිමට ශක්තිය කෙළවර වෙන වටය ඉතාම අඩු බලයකින් අඩු වේගයකින් ක්‍රියා කරල බලය ඉවර වීමෙන් ක්‍රියාව නවතිනවා. එතෙක් කැරකුන රවුම් ගණන තමයි බලයේ පූර්ණ ප්‍රතිඵලය. යමක් සඳහා යම් රවුම් ගණනක් කැරකෙන්න අවශ්‍යද, ශක්තිය දෙන්න පුළුවන් නම්, ශක්තියට අනුකූල ක්‍රියා මාර්ගය දන්නව නම්, ඒ පුද්ගලයා ඒ රවුම් ගණන කැරකෙන්න ශක්තියක් යොදවල නවතිනවා. ගැබ් කරපු ඒ ශක්තිය ඒ රවුම් ගණන කැරකිලා ප්‍රතිඵලය ලබා දෙනවා. ඒ පළමු කරකැවීම ප්‍රබලයි. වේගවත්. ක්‍රමයෙන් අඩු වෙලා අන්තිම කරකැවීම දුබලයි. මන්ද (අඩු) වේගයෙන් ගිහින් නවතිනවා.

ඒ වගේම යම් නාමරූප ගෝචරයකට භව ශක්තියක් පහල කළාද, ඒ ශක්තිය මනෝ ධාතුවෙන් තමන්ගෙ මිම්මට අනුව ඇදගෙන ක්‍රියා කරවනවා. බුද්ධ දේශිත පරමාණුවේ පටන් ක්‍රියා කරනවා. ක්‍රියාවට ගෝචර වෙන්නෙ නිෂ්ක්‍රිය ස්වභාවය තියෙන ඒ පරමාණුව. හැමතිස්සෙම පහල කරන ඒ ඒ මට්ටමේ ශක්ති මිනුම්ද භව ශක්ති විදිහට සත්ත්වයින් පහල කරනවා. මේ මිනිස් ලෝකය ආරම්භයේදි බලවත් චිත්ත ශක්තියකින් (භව ශක්තියකින්) පහල කරපු වස්තු, පරමාණුවේ පටන් එකින් එක ලොකු ජාති පහල කරල ලෝකය හදල නවතිනවා. ඒ තමයි ප්‍රධාන පහල කිරීම. මුහුදු, ගොඩබිම්, පර්වත... ආදී දේත්, සත්ත්ව කායන්ගේ ඕපපාතික වූ පළමු පහල කිරීමත් ඒ ප්‍රබල භව ශක්ති මිනුම්වල ප්‍රතිඵලයන්. අදත් පහල කරන භව ශක්ති මිනුම් අනුව, මනෝ ධාතුවේ ශක්තියෙන් රූප කලාප ක්‍රියා කරල ඒ ඒ රූප ජනිත කරනවා. උපාදානය යම් ප්‍රමාණයක් වෙනවද, භව ශක්තියත් ඒ ප්‍රමාණය වෙනවා. ජාති පහල වීමත් ඊට අනුරූපව සිද්ධ වෙනවා. උපාදානය කියන එක දැනගෙන කරන ක්‍රියාවලියක් නෙවෙයි. දැනගෙන කරන ක්‍රියාවලි සංඛාරයි.

න්‍යෂ්ටික බලය අති ප්‍රබලයි කියන්නෙ, ඉතා සියුම් රූප කලාප ඒ තියෙන විදිහට ප්‍රයෝජනයට ගන්න බැරි විදිහට, විශ්වයේ නිකං තියෙන්න බැරි විදිහට, සත්ත්වයාගේ බලාපොරොත්තුවේ තියෙන ප්‍රතිඵලය ඉලක්ක කරල ඉන්ද්‍රිය ගෝචර ආස්වාදයට ගැලපෙන මට්ටමේදි නවතින විදිහට භව ශක්තිය ක්‍රියා කරන නිසා. පහල කරල තියෙන භව ශක්තියට මුල් අවස්ථාවලදි අහුවෙන්නෙ සියුම් රූප කලාප නිසා, අධිවේගීව අධි බලැතිව එකතු කරනවා. ඒකෙ ප්‍රතිඵලයක් විදිහට සිද්ධ වෙන්නෙ, සියුම් රූප කලාප එකට ඇදිල බැඳිල, තිබුනටත් වඩා ලොකු රූප කලාපයක් පහල වීම. එබඳු රූප කලාප දෙකක් එහෙම නිකං තියෙන්න බෑ. ක්‍රමයෙන් එකිනෙකට ඇදෙනවා. ඒ තමයි තණ්හා ගති ස්වභාවයේ එකතු වෙන ආකාරය. ළං වුනාම බැඳීම තමයි උපාදානයේ දැඩි ස්වභාවය. ශක්ති ක්‍රියාවලියත් පටිච්ච සමුප්පාදය අනුව තමයි සිද්ධ වෙන්නෙ. බැඳෙනකොට භව ශක්තිය ක්‍රියා කරනවා. වේගය, බලය විද්‍යමාන වෙනවා. ප්‍රතිඵල නිපදවනවා. ඒ තමයි ජාති ස්වභාවය. ඒ ප්‍රතිඵල ජාතිය ඒ සඳහා එකතු වූ මූල ධාතුන්ට වඩා විසාල වෙනවා. මේ විදිහට යම් තාක් ද්‍රව වෙනවද, වායු වෙනවද, ඝන වෙනවද, ගිනි වෙනවද, එතෙකින් ස්පර්ශයට සුදුසු අවස්ථා සකස් වෙලා සිටිනවා. ඉන් එහා දෙයක් ආස්වාදයට ස්පර්ශය සඳහා එකතු කළත් ළං කළත් නිහඬයි. නිහඬයි කිව්වෙ සංයෝග වෙලා ප්‍රතික්‍රියා වෙලා අළුත් යමක් නිපදවන්නෙ නෑ කියන එක. මෙතන කියන්නෙ මිශ්‍රණ අවස්ථා ගැන. හරියට සීනි සහ වතුර වගේ. එක් වුනාම ශක්ති ක්‍රියාවලියක් නෑ.

මේ තමයි ලෝක නිර්මාණය වෙලා තියෙන පටිච්ච සමුප්පාද ක්‍රියාවලිය. බලාපොරොත්තු වූ භව ගතියට අනුව පහල වූ ආකාරය. තණ්හා උපාදාන සහිතව ඇලීමෙන් ගැටීමෙන් ඇසුරක් පෙන්වන නිසා, ගති රූපාකාරව වැනසීමේ ක්‍රියාවට අනුරූප සංයෝගත්, ආස්වාදයට සුවයට සුදුසු සංයෝගත්, ඒවාට ගැලපෙන විදිහට ප්‍රයෝජනයට ගන්න සුදුසු ආකාරයන්ගෙන් හැදිල පිහිටල තියෙනවා. "සියලු ධර්මයෝ මනෝ පූර්වංගමයි. මනෝ ශ්‍රේෂ්ඨයි" මේ තමයි බුද්ධ වචනය.

මේ විදිහට භව ආකාර වෙනවා. ගෝචර වෙලා බැඳීමෙන් හෙවත් උපාදානයෙන්ම භව හෙවත් පහල කිරීම හට ගන්නවා. පහල කිරීම නිසා ජනිත වීම් සිද්ධ වෙනවා. යම් තාක් ආකාරයන්ගේ ස්වභාවයන්ගේ පහලවීම් වෙනවද, ජනිතවීම් වෙනවද, ඒ සියල්ල මොහොතින් මොහොත ගෙවි ගෙවී ගිහින් විනාසයට පත්වීම නම් වූ ලෝක ධර්මතාවයේ වහලෙක් විදිහටම ගොදුරක් විදිහටම පහල වෙනවා. වහල් බවේම ගොදුරු බවේම ගෙවෙමින් ගිහින් දුර්වල වෙලා, වැහැරිලා වැනසීම සිද්ධ වෙනවා. පහල කළ ස්වභාවයන්ගේ ආස්වාදජනක බවේ ඇලීම බැඳීම තියෙන නිසා, වැනසෙනවට විපරිණාමයට පත්වෙනවට අකමැතියි. ඒ නිසා රැකගන්න මහත් වෙහෙසක් දරනවා. ඒත් සියලු ප්‍රතිකර්ම අසාර්ථකයි. වැනසිලා යනවා. එතකොට දුක් වෙනවා, සෝක කරනවා, වැළපෙනවා, කායික මානසික දුක් විඳිනවා, දැවෙනවා, තැවෙනවා, කම්පා වෙනවා, විකල් වෙනවා, දොඩවනවා, මහත් දුක් කඳ වෙනවා.

මේ විදිහට භව දැනගන්නවා. භවයට හේතුව උපාදානය බව දැනගන්නවා. භවය නැත්නම් දුක නැති බව දැනගන්නවා. **හොඳින් විමසල බලනකොට කිසිසේත් එකාකාරව මොහොතක්වත් පවත්වන්න බැරි බවත්, පැවැත්වීම දුක් දාහ පිඬක් බවත්, කොච්චර වෙහෙස වුනත් සාරත්වයක් නොලබන බවත්, නිරර්ථක බවත්, තමන් වසඟයේ නොපවතින ලෝක ධර්මතාවයේ වහළෙක්, ගොදුරක් බවත් පෙනී යනවා.** එතකොට භවයේ කලකිරෙනවා. භවය හටගන්න හේතුවෙන උපාදානය කරන්නෙ නැතිව යනවා. අත්හැරෙනවා. අත්හැරෙනකොට ඇලෙන්නෙ නැතිව යනවා. ඇලෙන්නෙ නැතිවෙනකොට මිදෙනවා. මිදුනම පරම සත්‍යය අවබෝධයෙන් මිදුන බව දකිනවා. අනුසය කෙළෙස් සිඳුන බව දකිනවා. අතීත, අනාගත, වර්තමාන කිසි කාලයක මේ සත්‍යයෙන් පිට වෙනත් විදිහකින් සිද්ධ වෙන භව

ක්‍රමයක් නැති බවත් දකිනවා. අත්බැව කෙළවර කළාද, මතු භවයක් නැති නිසා ජාතියක් නොවන බව දකිනවා. ප්‍රත්‍යක්ෂ කරනවා. කෙළවර නිවන පූර්ණ වෙනවා. මේ විස්තර කළෙත් නිවන් මගක්. රාගක්ෂය, ද්වේශක්ෂය, මෝහක්ෂය වෙන නිසා ඒකායන මාර්ග යක්. හේතුඵල සහිතයි. හේතු නිරෝධ ඵල නිරෝධ සහිතයි. විද්‍යානුකූලයි. ඒකාන්තයෙන් ඇසුරු කරල වැඩුවොත්, මෙනෙහි කළොත් මගඵල ලබල පූර්ණ වෙනවා. සැක නෑ.

“භවය නිසා ජාති වේ. භව නිරෝධයෙන් ජාති නිරෝධ වේ.” ජාති මොනවද? මොන ආකාරයේ ජාති තියෙනවද? ලෝකයේ හට ගත්ත යම් තාක් දේ ඇත්ද, මේ සියල්ල නොයෙක් ආකාර ජාති වෙනවා. සත්ත්ව ජාති, මනුස්ස ජාති, දේව ජාති, බ්‍රහ්ම ජාති, ගස් ජාති, වැල් ජාති, ගල් ජාති, පස් ජාති, ද්‍රව්‍ය ජාති, වස්තු ජාති... යනාදී ජාති නම්වලින් හඳුන්වනවා. ඒවායින් සමහරක් ජීවී. සමහරක් අජීවී.

අභ්‍යන්තර ආයතන විදිහට ඇස, කන, නාසය, දිව, ශරීරය, මනස කියන මේවා එකක් දෙකක් හෝ සියල්ලම වශයෙන් හෝ පහල වෙනවද මේවා ජීවී ජාති වෙනවා. ඒවා ලොකු කුඩා වෙන්න පුළුවන්. ඕලාරික හෙවත් තද ගති තියෙන හෝ සූක්ෂම හෙවත් සියුම් වූ පියවි මිනිස් ඇසකටත් නොපෙනෙන හෝ දුර වූ හෝ ළඟ වූ හෝ වෙන්න පුළුවන්.

රූප, ශබ්ද, ගන්ධ... ආදී වශයෙන් බාහිර ආයතන විදිහට පහල වෙන ඒවත් ලොකු කුඩා වෙන්න පුළුවන්. ඕලාරික හෝ සියුම් වෙන්න පුළුවන්. දුර හෝ ළඟ වෙන්න පුළුවන්. පෙනෙන හෝ නොපෙනෙන වෙන්න පුළුවන්. මේවා අජීවී ජාති. ඒ වගේම ගස්, වැල්... ආදී විදිහට තියෙන්න පුළුවන්. සියුම් වූ රූපස්කන්ධයන්ගේ ඒ ඒ ආකාර පහල වීම් අනුවත්, නාමස්කන්ධයන්ගේ ඒ ඒ ආකාර පහල වීම් අනුවත්, ඒ ඒ ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති වශයෙන් නම් තබා ගන්න පුළුවන්. මේවා භව හෙවත් පහල කරන ශක්තියෙනුත් පහල වෙනවා.

ඉන්පසුව විපරිණාම ස්වභාවයට පත්වීමෙනුත් පහල වෙනවා. කිහිප ආකාර ජාතීන්ගේ එකතුවීම්වලදි ඒකකයක් විදිහට පනවා ගැනීම් වශයෙනුත් පහල වෙනවා. මේ කිසිම ජාතියක් අහම්බෙන් පහල වෙන්නෙ නෑ. භව ශක්තියේ ක්‍රියාවලියකින්ම මනෝ ධාතුවේ ඉස්මතු කිරීම් විදිහට හෝ ආපෝ, තේජෝ, වායෝ, පඨවි යන සතර මහා භූතයන්ගේ ඉස්මතු කිරීම් වශයෙන් හෝ පහල වෙනවා. යම් නාමරූපයන් පිළිබඳව උපාදානයක් හෙවත් දැඩිව ගැනීමක් බැඳීමක් වෙළීමක් ඇත්ද, පැවැත්වීමේ බලාපොරොත්තුව සහිත භවය ඇති වෙනවා. ඒ භවය ඇද ගන්නා මනෝ ධාතු ශක්තියෙන් අභ්‍යන්තර වශයෙන් හෝ බාහිර වශයෙන් හෝ පහල කරනවා. උපාදාන නොකෙරෙනවද භව වෙන්නෙ නෑ. එතකොට ශක්ති ක්‍රියාකාරී බලයට ලෝකයේ සතර මහා භූත එකතු කිරීමක් හෝ මනෝ ධාතුවේ ශක්ති විශේෂයෙක් හෝ සකස් කිරීමක් වෙන්නෙ නෑ. එතකොට සකස් කළ දෙයක් පැනවෙන්නෙ නෑ. ඒ කියන්නෙ ජාතියක් පැනවෙන්නෙ නෑ.

පහල වූ යම් තාක් ජාති ඇත්ද, මොහොතින් මොහොත ගෙවී ගෙවී ගිහින් විනාසයට පත්වීම නම් ධර්ම ස්වභාවයේ වහළෙක් විදිහටම ගොදුරක් විදිහටම පහල වෙනවා. ඒ මොහොතේ පටන් අතරක් නැර වහල් බවට ගොදුරු බවට පත්වෙමින්, ගෙවී ගෙවී යමින්, දුර්වල වෙමින්, වැහැරෙමින් වැනසිලා යනවා. ලෝක සත්ත්වයෝ ඒ ඒ ගතිවලට හෙවත් භවවලට තදින් ආසා කරනවා. එහෙම නැත්නම් ගති හටගන්න හේතුව වන ප්‍රිය මනාප විදිහට ලෝකයේ බැඳීමට වෙළීමට කැමති වෙනවා. මතු පැවැත්මට නැමී සිටිනවා. ඒ තාක් ජාතීන්ගේ හට ගැනීම වළක්වන්න බෑ.

යම් කාලයක භවය පහල කරන ආස්වාදයෙන් ලෝකයේ ඇලීම බැඳීම පිළිබඳව ආදීනව මෙනෙහි කරනවද, අත්හැරීමේ නොඇල්මේ මිදීමේ ආනිසංස මෙනෙහි කරනවද, එයින් හරි මග වැඩෙනවා. මේ පහල වූ ජාතිවල මොහොතින් මොහොත ගෙවී ගෙවී ගිහින් විනාසයට පත්වීමට වහල් බවක් ගොදුරු බවක් වෙනවද, ඒ නිසා අනිච්ච බවක් වෙනවද, විපරිණාම බවක් වෙනවද, නිරර්ථක නිෂ්ඵල බවක් වෙනවද, කැමති සේ පවතින්නෙ නැතිව මහා සැඩ පහරක ගහගෙන යන තණකොළපතක් අල්ල ගන්න බෑ වගේ, ලෝක ධර්මතාවයට ගොදුරු වෙලා වැනසිලා යාමක් වෙනවද, මේ බව නොදැන, මෙනෙහි නොකර, ප්‍රිය මධුර ලෙස සාරවත් ලෙස සිතමින් ඇලීම් බැඳීම් සහිත වෙනවද, ඒ තාක් කල් ඒ ලෝක ධාතුන්ගේ සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තුන්ගේ පැවැත්මක් බලාපොරොත්තු වෙනවද, ඒ බලාපොරොත්තුව පුස්සක්, හිස්. ඉටු වෙන්නෙ නෑ. නමුත් මහත් සේ උත්සාහ දරනවා. රකිනවා. ඒත් ඒ කිසිවක් ගණන් ගන්නෙ නැතිව මොහොතින් මොහොත ගෙවෙමින් දුර්වල වෙමින් ජරා වෙමින් මරණයට පත්වෙනවා. වැනසීමට පත්වෙනවා. එතකොට සෝක කරනවා. කායිකවත් මානසිකවත් දුක් වෙනවා. කණගාටු වෙනවා. කම්පා වෙනවා. හඬනවා, වැළපෙනවා. දාහ ගින්නෙන් දැවෙනවා. තන් දොඩවනවා. සියලු දුක් දාහ පහල කරනවා.

යම් දවසක මේ ජාතිවලට උරුම වෙච්ච වැනසීම, නිස්සාර බව, නිෂ්ඵල බව, වසඟයේ පවත්වන්න බැරි බව මනා සේ දැනගන්නවද, එතකොට ඒ ජාති කෙරෙහි ඇලීම් බැඳීම් දුරු වෙමින් ඇසුර පිළිබඳව කලකිරීම වෙනවා. කලකිරෙනකොට අත්හැරෙනවා, නොඇලෙනවා, මිදෙනවා.

මේ විදිහට නාම රූපයන්ගේ ස්වභාවය හරි විදිහට දකිනවා. පහල වෙන ආකාරය දකිනවා. නිරෝධය දැනගන්නවා. නිරෝධ මාර්ගය දැනගන්නවා. අතීත, අනාගත, වර්තමාන යන හැම කාලයේම මේ පරම සත්‍යතාවයට අනුරූපව සිද්ධ වෙන ක්‍රියාවලියෙන් පිටස්තර වෙනත් පැවතුම් මගක් නෑ කියල දකිනවා. ඒ ගැන නිතර මෙනෙහි කරනකොට අවබෝධයට පත්වෙනවා. ජාති කෙරෙහි කලකිරෙනවා. කලකිරෙනකොට අත්හැරෙනවා. අත්හැරෙනකොට නොඇලෙනවා. නොඇලෙනකොට මිදෙනවා. මිදුනම ඒක පරම සත්‍යාවබෝධයෙන්ම සිද්ධ වුන බව දන්නවා. ඒ සත්‍යය අතීත, අනාගත, වර්තමාන යන තුන් කාලයේම වෙනස් වෙන්නෙ නැති බවත් දකිනවා, දන්නවා, ප්‍රත්‍යක්ෂ කරනවා. මාර්ගඵල ප්‍රත්‍යක්ෂ කරමින් නිවන පූර්ණ කරනවා. ජාතිය කෙළවර වෙනවද, දුක් කඳ පැවැත්මට හේතුව සහමුලින් කෙළවර වෙනවා. මේකත් නිවන් මගක්. හේතුඵල සහිතයි. හේතු නිරෝධ, ඵල නිරෝධ සහිතයි. විද්‍යානුකූලයි. සත්‍යයක්. ඒකාන්තයෙන් මගඵල පූර්ණ කරල රහත් ඵලයට මාර්ගය පාදනවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# නිවන් පූර්ණ කිරීමට ධ්‍යාන වැඩීම අත්‍යවශ්‍යද?

02 කොටස

නිවන් පූර්ණ කරගන්න ආර්ය ධ්‍යාන මහත් සේ උපකාර වෙන නිසා ධ්‍යාන වැඩීමේ කිසි වරදක් නෑ. දහැන් වැඩෙන අයට ආර්ය කර්මස්ථාන අනුව ධ්‍යාන වැඩීමෙන් පංච නීවරණ සංසිඳවගෙන මගඵල නිවන් සාක්ෂාත් කරගන්න උපනිශ්‍රය සම්පත් ලබාගන්න පුළුවන්. හේතු වාසනා තියෙන ඇතැම් අයට ආර්ය මාර්ගය වඩාගෙන යනකොට ධ්‍යාන අභිඥා නිරායාසයෙන්ම වැඩෙනවා. බුදුන් වහන්සේ ජීවමාන කාලයේ ධර්මය ශ්‍රවණය කරමින් හිටපු ආසනයෙදිම අරිහත් වෙලා ධ්‍යාන අභිඥා ලබපු අවස්ථාත් තියෙනවා. සන්තති ඇමති රාජාභරණ පිටින් ජේතවනාරාමයේදි ධර්මය ශ්‍රවණය කරල ධ්‍යාන අභිඥා සහිතවම අරිහත්වයට පත්වුනා. තථාගතයන් වහන්සේගේ අනුදැනීමෙන් ප්‍රාතිහාර්ය පවා දක්වලයි ගිහි වතේ ඉඳගෙනම පිරිනිවන් පෑවෙ.

පසේනදී කොසොල් රජතුමාට හිටිය දක්ෂ ඇමති කෙනෙක් තමයි සන්තති කියන්නෙ. රජතුමාට අයිති ඒ පසල් දනව්වක රජුට විරුද්ධව කැරැල්ලක් ඇති වුනා. සන්තති ඇමති ඒක සංසිඳුවල සමගිය ඇති කරල ආපසු ආවා. ඒ නිසා කොසොල් රජතුමා අතිශයින් සතුටට පත්වෙලා, සන්තති ඇමතිට හත් දවසකට රජකම දීල, නටන්න ගී කියන්න පුළුවන් නළඟනකුත් ලබා දුන්නා. ඒ හත් දවසම විනෝද වෙමින් මත්පැන් පානය කරමින් කාලය ගත කළා. හත්වෙනි දවසෙ රාජාභරණ ඇඳ පැළඳගෙන ඇතෙක් පිට නැගල දිය නාන්න යනකොට, වාහල්කඩ ළඟදි පිඬුසිඟා වඩින තථාගතයන් වහන්සේ දැකල, ඇතා පිට ඉඳෙත්දිම හිස නමල වැඳල යන්න ගියා.

සන්තති ඇමති එතනින් ගියාට පස්සෙ බුදුන් වහන්සේ සිනා පහල කළා. ආනන්ද හාමුදුරුවො ඒකට හේතුව ඇහුවම, බුදුන් වහන්සේ මේ විදිහට දේශනා කරනවා. ආනන්දය, අර ඇතු පිටින් යන සන්තති ඇමති අද රාජාභරණ පිටින් මා ඉදිරියට ඇවිත් හතර පද ගාථාවක් අහල, අවසානයේ අරිහත්වයට පත්වෙලා තල් ගස් 7 ක් උසට අහසට නැගල පිරිනිවන් පානවා.

මේ කතාව එතන හිටපු සියලු දෙනාටම ඇහුනා. මිසදිටු ගත් අය, මේ ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ හැටි බලන්න, කටට එන එන ඒවා කියනවා, සුරා බීල මත්වෙලා හරි සිහියක්වත් නැතිව ඉන්න මොහු රාජාභරණ පිටින්ම රහත් වෙනවලු, අද නම් මේ ශ්‍රමණයාව බොරුකාරයෙක් කරන්න පුළුවන් කියල කතා වුනා. එතකොට සම්මා දිට්ඨික බෞද්ධ පිරිස්, අද නම් මහා ආශ්චර්යක් දකින්න පුළුවන්, බුද්ධානුභාවයත් සන්තති ඇමතිගෙ හැටිත් බලාගන්න පුළුවන් කියල සතුටට පත්වුනා.

සන්තති ඇමති මුළු දවස පුරාම නාන තොටේ දිය ක්‍රීඩා කරල, උයනට ගිහින් මත් පැන් පානය කරල නළඟනගෙ නැටුම් නරඹමින් හිටියා. දින 7 ක් හරියට ආහාර නොගැනීම නිසා (ආහාර කුස පුරා ගත්තම නටන්න අපහසු නිසා) සත්ථක කියන වාතයක් කිපිල මේ නළඟන ඇමති ඉදිරියේ නටද්දිම මැරිල ඇදගෙන වැටුනා. මේ සිදුවීම නිසා ඇතිවෙච්ච සෝකාග්නිය සංසිඳුවා ගන්න, තමන්ගෙ පිරිසත් සමග හවස් යාමයේ බුදුන් වහන්සේ හමුවට ගිහින් සියලු විස්තර පැවසුවා.

ඉන්පසු තථාගතයන් වහන්සේ සන්තති ඇමතිව අමතල මෙහෙම දේශනා කරනවා. ඇමතිතුමනි, මේ නළඟන ඔබ ඉදිරියේ මරණයට පත් වුනේ අද පමණක් නෙවෙයි, සසර ගමනෙදි ගණනින් කියන්න බැරි තරම් වාර ගණනක් ඔබ ඉදිරියේ මරණයට පත්වෙලා තියෙනවා. ඒ වෙනුවෙන් ඔබ හඬපු කඳුලු සතර මහා සාගරයේ ජලයටත් වැඩියි.

මේ විදිහට සසර ගමනේ බියකරු බව පැහැදිලි කරමින් ධර්ම දේශනා කළාම, ඒ ආසනයේදිම සියලු කෙළෙසුන් නසල රාජාභරණ පිටින්ම අරිහත්වයට පත් වුනා. ඒත් තමන්ට මීට වඩා ජීවත් වෙන්න ආයුස නැති බව දිවැසින් දැකල පිරිනිවන් පාන්න තථාගතයන් වහන්සේගෙන් අවසර ඉල්ලුවා. සියලු දෙනාගේ සැක හැරල අහසට නැගල පිරිනිවන් පාන්න කියල බුදුන් වහන්සේ දැනුම් දුන්නා. ඒ නිසා තල් ගස් 7 ක් තරම් අහස උසට නැගල මිසදිටු ගත්තවුන් පසු බස්සන්නත්, සම්මා දිට්ඨික පිරිස් සසුනේ උත්සාහවත් කරන්නත්, තමන් විපස්සී බුදු රජුන් දවස සිද්ධ කළ මහා පිංකම් විස්තර කරමින් ආකාසේ සිටම තේජෝ කසිණයට සම වැදිල පිරිනිවන් පෑවා.

ඒත් එක්කම සිරුරෙන් ගිනි දැල් නිකුත් වෙලා මස් ලේ නහර දැවිල ගියා. දෑ සමන් මල් පොහොට්ටු රැසක් වගේ ධාතුන් වහන්සේලා ඉතිරි වුනා. තථාගතයන් වහන්සේ බිමට

සුදු රෙද්දක් ඇතිරුවට පසු ධාතූන් වහන්සේලා සුදු රෙදිකඩේ වැඩ සිටියා. ඒ ස්ථානයේ රැස්වෙලා හිටපු පිරිස් ධාතූන් වහන්සේලා වන්දනා කළා. ඒ ධාතු නිදන් කරල හතරමං හංදියක දාගැබක් ඉදි කළා.

සන්තති ඇමති ගිහි වතේදිම රාජාභරණ සහිතව රහත් වුන නිසාත්, පැවිදි වෙලා හිටියෙ නැති නිසාත්, දම් සභාවට රැස්වුන භික්ෂූන් වහන්සේලා සන්තති රහතන් වහන්සේ කුමන නමකින් අමතන්න ඕනද කියල කතා කරමින් ඉන්නකොට, බුදුන් වහන්සේ එතනට වැඩම කරල කරුණු විචාරල "අලංකතෝ චේපි සමංචරෙය්‍ය..." කියන ධම්ම පදයේ දණ්ඩ වර්ගයේ ගාථාව දේශනා කළා. රාජාභරණවලින් සැරසිලා හිටියත් අවිජ්ජා තෘෂ්ණා නමැති "සං" බහා තැබූ (සං + තෝ), ඉඳුරන් දමනය වූ (දන්තෝ), සතරමග සතර ඵලයෙන් නියත වූ (නියතෝ), සියලු සතුන් කෙරෙහි බහා තැබූ දඬු මුගුරු ඇති (සබ්බේසු භූතේසු නිධාය දණ්ඩං) එවැනි උතුමා බ්‍රාහ්මණ, සමණ, භික්ඛු යන වචනවලින් අමතන්න පුළුවන් (සෝ බ්‍රාහ්මණෝ සෝ සමණෝ ස භික්ඛු) කියල වදාළා.

ඒ නිසා මෙතන තියෙන ගැටළුව ධ්‍යාන වැඩීම නෙවෙයි, ධ්‍යාන නැත්නම් නිවන් පූර්ණ කරගන්න බැහැයි කියන මතය. ඒ වගේම එහෙම කිව්වම, සියලු දෙනාටම ධ්‍යාන වැඩෙනව කියල නියමයක් නැති නිසා, ධ්‍යාන වැඩෙන්නෙ නැති අය හිතනවා, අනේ අපිට ධ්‍යාන වැඩෙන්නෙ නෑනෙ, ඒ නිසා නිවන් දකින්නත් බැහැනෙ කියල. එහෙම හිතල ආර්ය මාර්ගය වඩන්න පවා උකටලී වෙන්න පුළුවන්. ඒ අනුව නිවන් පූර්ණ කරගන්න හේතු තියෙන අයට පවා, බුද්ධ කාලයේ හිටපු මහධන සිටු පුත්‍රයාට වගේ ඒ අවස්ථාව මග හැරිල ප්‍රමාද වෙන්න හේතු හැදෙන්න පුළුවන්.

අ. නි. 5 - 488 පිටුවේ එන ධ්‍යාන නිස්සය සූත්‍රයේ, මහණෙනි මම ප්‍රථම ධ්‍යානය නිසාත් කෙළෙස් ප්‍රහාණය පනවනවා, ද්‍විතීය, තෘතීය, චතුර්ථ ධ්‍යාන නිසාත් කෙළෙස් ප්‍රහාණය පනවනව කියල සඳහන් වෙනවා. මහණෙනි, මම ප්‍රථම ධ්‍යානය නිසා කෙළෙස් පහ කිරීම පැනෙව්වෙ කුමක් නිසාද කියල මේ විදිහට සූත්‍රයේ විස්තර කරනවා. මේ සාසනයේ යම් කෙනෙක් සවිතක්ක, සවිචාර, ප්‍රීති, සුඛ, ඒකගත්තා සහිත පළවෙනි ධ්‍යානය ලබා ගන්නවා. මේ ධ්‍යානයේ තියෙන රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන යම් උපාදානස්කන්ධයක් තියෙනව නම්, ඒක අනිච්ච විදිහට, රෝගයක් විදිහට, ගෙඩියක් විදිහට, හුලක් විදිහට, දුක් සහිත එකක් විදිහට, ආබාධයක් විදිහට, තමන්ට අයත් නැති දෙයක් විදිහට, පළුදු වෙච්ච දෙයක් විදිහට, ශූන්‍ය අනාත්ත දෙයක් විදිහට විදර්ශනා වශයෙන් දකිනවා.

සියලු සංඛාරයන්ගේ යම් සංසිඳීමක්, උපාදානයන්ගේ දුරු කිරීමක්, තණ්හාවෙන් මිදීමක්, විරාගයක්, නිරෝධයක් නිවීමක් වෙනව නම්, එයම ශාන්තයි ප්‍රණීතයි කියල දකිනවා. ඔහු ප්‍රථම ධ්‍යානයෙන් යුක්තව ඒක පාදක කරගෙන ආශ්‍රව ප්‍රහීණ කර ගන්නවා. සම්පූර්ණ කෙළෙස් ප්‍රහාණය සිද්ධ වුනේ නැත්නම්, පංච ඕරංභාගීය සංයෝජන ප්‍රහීණ කිරීමෙන් නැවත මේ කාම ලෝකයට එන්නෙ නැතිව, බඹ ලොව ඉපදිලා එහිදීම පිරිනිවන් පාන කෙනෙක් බවට පත්වෙනවා.

මේ විදිහට දෙවෙනි, තුන්වෙනි, හතරවෙනි ධ්‍යාන වගේම අරූප සමාපත්ති ගැනත් එකින් එක ධ්‍යාන නිස්සය සූත්‍රයේ විස්තර වෙනවා. මේ අනුව පේනවා, ඇතැම් කෙනෙක් පළවෙනි දැහැන පමණක් ලබල ඒක විදර්ශනා කරල ආශ්‍රව ප්‍රහීණ කරගන්න බව. ඒ වගේම ඇතැම් ශ්‍රාවකයො දෙවෙනි දැහැන ලබලත්, තුන්වෙනි දැහැන ලබලත්, හතරවෙනි දැහැන වගේම අරූප සමාපත්ති ලබලත් කෙළෙස් ප්‍රහාණය කරල සසර දුක් නිමා කරගන්නවා.

අරි අටගි මගේ සම්මා සමාධිය කියන්නෙ ධ්‍යාන 4 ම කියල ගත්තොත්, ඉහත සූත්‍ර දේශනාව සමග ගලපගන්න බැරි වෙනවා. මොකද ප්‍රථම ධ්‍යානය විතරක් ලබල සංයෝජන ප්‍රහීන කරල දුක් කෙළවර කරගන්න රහතන් වහන්සේලාත් ඉන්න නිසා, උන්වහන්සේලා අරි අටගි මගේ සම්මා සමාධිය පූර්ණ කරල ඉන්නෙ. නමුත් රූපාවචර ධ්‍යානවලින් තියෙන්නෙ ප්‍රථම ධ්‍යානය විතරයි. ධ්‍යාන හතරම ලබාගෙන සම්මා සමාධිය පූර්ණ කරගෙන මිසක් සම්මා ඥාන, සම්මා විමුක්තිය ලබන්න බෑ කියන මතය මේ සූත්‍ර දේශනාව අනුව නිෂ්ප්‍රභා වෙනවා.

පඤ්ඤා විමුක්ති අරිහතුන් වහන්සේට අනිවාර්යෙන් දැහැන් හතරම තියෙන්න ඕන, දැහැන් නැති පඤ්ඤා විමුක්තික අරිහතුන් වහන්සේලා නෑ කියන අදහසකුත් මේ කාලෙ මතුවෙලා තියෙනවා. ඒක එහෙමද කියල ත්‍රිපිටකානුගත කරුණුවලින් විමසල බලන්න වෙනවා. පඤ්ඤා විමුක්ති අරිහතුන් වහන්සේලා ධ්‍යාන සහිත / ධ්‍යාන රහිත වශයෙන් ප්‍රභේද කීපයකින් ඉන්න බව සූත්‍ර අභිධර්ම දේශනා අනුව සනාථ වෙනවා.

සූත්‍ර පිටකයේ පඤ්ඤා විමුක්තිකයා තෝරල තියෙන විදිහ මුලින් විමසල බලමු. අ. නි. 5 - 538 පිටුවේ එන පඤ්ඤා විමුක්ති සූත්‍රයේ විස්තර කරල තියෙන්නෙ මේ විදිහට. "පඤ්ඤා විමුත්තෝති පඤ්ඤා විමුත්තෝති ආවුසෝ වුච්චති කිත්තාවතා - නුඛෝ ආවුසෝ පඤ්ඤා විමුත්තෝ වුත්තෝ භගවතාති"

ඇවැත්නි, පඤ්ඤා විමුත්ත පඤ්ඤා විමුත්තකියල කියනවා. කවරකරුණකින් පඤ්ඤා විමුක්ති වෙනවද? ඇවැත්නි, මේ සාසනයේ යමෙක් කාමයන්ගෙන් වෙන්වෙලා, අකුසලයන්ගෙන් වෙන් වෙලා, සවිතක්ක සවිචාර ප්‍රීති සුඛ ඒකග්ගතා සහිතව පළවෙනි ධ්‍යානයට පත්වෙලා වාසය කරනවා. ඔහු විදර්ශනා ප්‍රඥාවෙන් පළවෙනි දැහැනේ යථා ස්වභාවය දැකල සංයෝජන ප්‍රහීණ කරනවා. මෙපමණකින් තථාගතයන් වහන්සේ ප්‍රඥා විමුක්තිකයා දේශනා කරනවා.

මේ ආකාරයට දෙවෙනි දැහැන ලබල, තුන්වෙනි දැහැන ලබල, හතරවෙනි දැහැන ලබල, ඒ ඒ ධ්‍යානයෙන් පසු විදර්ශනා වඩල සංයෝජන ප්‍රහීණ කරනවද, ඒ සියලු දෙනාම ප්‍රඥා විමුක්ති වෙන බව දේශනා කරල තියෙනවා. රූපී ධ්‍යාන ඉක්මවල අරූපී සමාපත්ති පිළිබඳවත් ඒ වගේම විස්තර කරමින් පඤ්ඤා විමුක්ති වෙන බව සඳහන් වෙනවා. අෂ්ඨ සමාපත්ති දක්වා ධ්‍යාන වඩපු උතුමන් පරියාය (ප්‍රධාන වූ, ඒකාන්ත වූ) වශයෙන් පඤ්ඤා විමුක්ත වන බවත්, සංඥාවේදයිත නිරෝධයට පත්වෙලා සංයෝජන ප්‍රහීණ කරන උතුමන් නිප්පරියාය (අප්‍රධාන, ඒකාන්ත නොවී) වශයෙන් ප්‍රඥා විමුක්ත වන බවත් ඉහත සූත්‍රයේ සඳහන් කරල තියෙනවා.

පඤ්ඤා විමුක්ති සූත්‍රයට අනුව ඇතැම් රහතන් වහන්සේලාට තියෙන්නෙ ප්‍රථම ධ්‍යානය විතරයි. ඒ වගේම දෙවෙනි ධ්‍යානය විතරක් තියෙන, තුන්වෙනි ධ්‍යානය හෝ හතරවෙනි ධ්‍යානය තියෙන පඤ්ඤා විමුක්තිකයො ඉන්නව වගේම, අරූප සමාපත්තිවල ඒ ඒ සමාපත්ති තියෙන සංඥාවේදයිත නිරෝධ සමාපත්තියක් තියෙන පඤ්ඤා



විමුත්තික අරිහතුන් වහන්සේලාත් ඉන්නවා.

ස. නි. 2 - 188 පිටුවේ එන සුසීම සූත්‍රයේ, පඤ්ඤා විමුක්තිකයා විස්තර කරල තියෙන්නෙ මේ විදිහට. එක් අවස්ථාවක බොහෝ භික්ෂූන් අරිහත්වයට පත්වෙලා, ජාතිය ක්ෂය වුනා, බඹසර වාසය කරල අවසන් වුනා, මතු කළ යුතු දෙයක් නෑ කියල තථාගතයන් වහන්සේ ඉදිරියේ අරිහත්වය ප්‍රකාශ කළාම, ඒ භික්ෂූන් වෙත ගිය සුසීම, ඔබ වහන්සේලා දූන් බුදු හිමි සමීපයේ අරිහත්වය ප්‍රකාශ කළානෙ, එහෙම ප්‍රකාශ කරපු ඔබ වහන්සේලාට දිවැස්, දිවකන්, පරසිත් දක්නා නුවණ, ෂඩ්විධ ඥානය, පෙර අත්බැව් දකින නුවණ... ආදිය තියෙනවද කියල ඇහුවම, අපට ඒවා නැති බවත්, රූපාවචරය ඉක්ම වූ අරූපී විමෝක්ෂයන් නැති බවත්, අපි පඤ්ඤා විමුක්තිකයන් බවත් ප්‍රකාශ කරල තියෙනවා.

ම. නි. 2 - 244 පිටුවේ එන කීටාගිරි සූත්‍රයේ, පඤ්ඤා විමුක්තිකයා තෝරල තියෙන්නෙත් සුසීම සූත්‍රයේ විග්‍රහ කළ විදිහටමයි.

මහණෙනි, පඤ්ඤා විමුක්ත පුද්ගලයා කියන්නෙ කවුද? යම් පුද්ගලයෙක් රූපාවචර ධ්‍යාන ඉක්මවල අරූපාවචර ධ්‍යාන නාම කයින් ස්පර්ශ නොකොට වාසය කරනවද, විදර්ශනා නුවණින් දැකල ඔහුගේ ආශ්‍රව දුරු වුනාද, ඔහු පඤ්ඤා විමුක්ත වෙනවා. ඒ සූත්‍රයේ උභතෝභාග විමුක්තිකයාට රූපී අරූපී අෂ්ඨ සමාපත්තිම තියෙන බව සඳහන් වෙනවා.

සුසීම සූත්‍රය අනුවත්, කීටාගිරි සූත්‍රය අනුවත්, පඤ්ඤා විමුක්තිකයාට තියෙන්නෙ රූපාවචර ධ්‍යාන විතරයි. ධ්‍යාන නිස්සය සූත්‍රයට අනුව ප්‍රථම ධ්‍යානයයේ සිට අරූප සමාපත්ති දක්වා තියෙන රහතන් වහන්සේලාත් ඉන්නවා. මේ විදිහට ධ්‍යාන ලැබීම අනුව පඤ්ඤා විමුක්තිකයන්ගේ ප්‍රභේදයන් විවිධාකාරයි.

අභිධර්ම පිටකය කියන්නෙ විශේෂඥ ධර්ම කොටසක්. සූත්‍ර පිටකයේ උද්දේස (මාතෘකා) වශයෙන් දේශනා කළ දෙයක් නිද්දේස පටිනිද්දේස (වැඩි විස්තර සහිත) වශයෙන් විස්තර වෙන්නෙ අභිධර්මයේ. ඒ වගේම සූත්‍ර පිටකයෙන් හොයාගන්න බැරි ඇතැම් සියුම් විග්‍රයන් දැනගන්න නම් අභිධර්ම පිටකයේ පිහිට පතන්න සිද්ධ වෙනවා.

අභිධර්ම පිටකයට අයිති සත්තප්‍රකරණයේ ධාතු කතා පුග්ගල ප්‍රඥප්තියේ 270 පිටුවේ පඤ්ඤා විමුක්තිකයා තෝරල තියෙන්නෙ මේ විදිහට. "කතමෝච පුග්ගලෝ පඤ්ඤා විමුත්තෝ, ඉධේකච්චෝ පුග්ගලෝ න හේව බෝ අට්ඨ විමොක්ඛේ කායේන ඵසිත්වා විහරති පඤ්ඤාය චස්ස දිස්වා ආසවා පරික්ඛීණා හොන්ති අයං වුච්චති පුග්ගලෝ පඤ්ඤා විමුත්තෝ.

කවර පුද්ගලයෙක් පඤ්ඤා විමුක්ත වෙනවද, එක් පුද්ගලයෙක් අෂ්ට විමෝක්ෂ (රූපී, අරූපී ධ්‍යාන හා නිරෝධ සමාපත්තිය ඇතුලත්ව) කයින් ස්පර්ශ කරන්නෙ නැතුව වාසය කරනවා. විදර්ශනා ප්‍රඥාවෙන් දැකල ආශ්‍රව ප්‍රහීණ කරගන්නවා. මේ පුද්ගලයා පඤ්ඤා විමුක්ත කියල කියනවා.

මේ අභිධර්ම දේශනාව අනුව රූපාවචර ධ්‍යාන 4, අරූපාවචර සමාපත්ති 4 හා නිරෝධය යන අෂ්ඨ විමෝක්ෂ නැතිව, පංච උපාදානස්කන්ධය අනිච්ච, දුක්ඛ, අනත්ත විදිහට විදර්ශනා ප්‍රඥාවෙන් දැකල සියලු කෙළෙස් ප්‍රහීණ කරල පඤ්ඤා විමුක්ත වෙන බව සඳහන් වෙනවා.

අභිධර්ම පිටකය, පුග්ගල ප්‍රඥප්ති, චතුක්ක නිද්දේස - 377 පිටුවේ, කිසිම ධ්‍යානයක් නැතිව අධිපඤ්ඤා විදර්ශනාවෙන් කෙළෙස් ප්‍රහීණ කරල ලෝකෝත්තර ඵලයට පත්වෙන්න පුළුවන් බව මේ විදිහට සඳහන් වෙනවා.

"කථඤ්ච පුග්ගලෝ ලාභී හෝති අධිපඤ්ඤා ධම්ම විපස්සනාය න ලාභී අජ්ඣත්තං චේතෝ සමථස්ස ඉධේකච්චෝ පුග්ගලෝ ලාභී හෝති ලෝකුත්තර මග්ගස්ස වා ඵලස්සවා, න ලාභී රූප සහගතානං වා, අරූප සහගතානං වා සමාපත්තීනං ඒවං පුග්ගලෝ ලාභී හෝති අධිපඤ්ඤා ධම්ම විපස්සනාය න ලාභී අජ්ඣත්තං චේතෝ සමථස්ස"

කවර ආකාරයකින් අධිපඤ්ඤා ධර්ම විදර්ශනාව ලබන්නේ, අධ්‍යාත්මික චිත්ත සමථය (රූපී අරූපී ධ්‍යාන) නොලබන්නේ වේද, මේ සාසනයේ යම් කෙනෙක් ලෝකෝත්තර මාර්ගඵලවලට පත්වෙනවා. නමුත් රූපී අරූපී ධ්‍යාන සමාපත්ති ලබන්නෙ නෑ. මේ විදිහට අධිපඤ්ඤා ධර්ම විපස්සනාව ලබනවා. නමුත් අධ්‍යාත්මික චිත්ත සමථය ලබන්නෙ නෑ.

අංගුත්තර නිකාය 2, 174 පිටුවේ එන පඨම සමාධි සූත්‍රයෙත් මේ බව විග්‍රහ කරල තියෙනවා. ලෝකයේ ඉන්න පුද්ගලයෝ හතර දෙනෙක් ගැන සඳහන් වෙනවා. ඉධ පන භික්ඛවේ ඒකච්චෝ පුග්ගලෝ ලාභී හෝති අධිපඤ්ඤාය ධම්ම විපස්සනාය න ලාභී අජ්ජත්තං චේතෝ සමතස්ස. මහණෙනි, මෙලොව ඇතැම් පුද්ගලයෙක් අධි ප්‍රඥාවෙන් විදර්ශනා ඥානය ලබන සුළු වෙයි. නමුත් අර්පනා චිත්ත සමාධි නොලබන සුළු වෙයි.

ඒ වගේම "පච්චනීක ධම්මේ ඣාපේතීති ඣායානං" පංච නීවරණ දවා හරින අර්ථයෙන් ධ්‍යාන කියල හඳුන්වනවා. පටිසංභිදා මග්ග පාළියේ විමෝක්ෂ කතා යටතේ, ධ්‍යාන කියන්නෙ නීවරණ ධර්ම දවා හැරීමයි, සියලු කෙළෙසුන් දවා හරින අර්ථයෙනුත් ධ්‍යාන කියන බව සඳහන් වෙනවා. නෙක්ඛම්මයටත් ධ්‍යාන කියල අර්ථ දක්වල තියෙනවා. (පටි සං - 1, 454 පිටුව)

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය,**
**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**
**0716839346**



# වස විස ආහාරවලට එරෙහි විකල්ප 04

මේ වෙනකොටත් අපේ ආහාර වට්ටෝරුවලින් ගිලිහිලා ගිය, අපේ පැරැන්නන් අනුභව කළ, වස විසෙන් තොර, ඖෂධීය ගුණයෙන් හා පෝෂණයෙන් ඉහල, අඩු වියදමකින් පහසුවෙන් හදාගන්න පුළුවන්, ගමේ ගොඩේ කැලෑබදව වැවෙන හැදෙන තවත් කොළ වර්ග, ගෙඩි වර්ග කිහිපයක් තමයි මේ සඳහන් කරන්නෙ. **ඒ වගේම මේ කොළ වර්ග ආහාරයට ගන්නකොට එකම කොළ වර්ගයක් දිනපතා ආහාරයට නොගෙන, විවිධ කොළ වර්ග මාරුවෙන් මාරුවට ගැනීම තමයි වඩාත් සුදුසු. එහෙම නැත්නම් කොළ වර්ග කිහිපයක් එකට මිශ්‍ර කරල ගැනීමත් සුදුසුයි.**

කුරිඤ්ඤං කොළ කියන්නෙ, සුලභව වැලක හැදෙන, සම්බෝලයක් විදිහට හෝ මැල්ලුමක් විදිහට හෝ හදාගන්න පුළුවන් කොළ වර්ගයක්. කුරිඤ්ඤං කොළ හීන් වෙන්න ලියල පොල්, රතු ළූණු, සුදු ළූණු, දෙහි ඇඹුල්, ලුණු, ගම්මිරිස්... ආදිය මිශ්‍ර කරල ආහාරයට ගන්න පුළුවන්. ඖෂධීය ගුණය ගත්තොත්, මධුමේහය සමනයට උපකාරී වෙනවා. අග්න්‍යාශයේ විස ඉවත් කරනවා. රුධිර නාල ප්‍රසාරණය කරල ලේ ගමනාගමනය පහසු කරනවා. මහ බඩවැලේ තියෙන අංගුලිකාවල ක්‍රියාකාරීත්වය වැඩි කරනවා. බහිස්‍රාවී පද්ධතිය ප්‍රකෘතිමත් කරනවා.

තෙබු කොළ කියන්නෙ, ඇඹුල් සහ කහට රස තියෙන ඉතා ප්‍රණීත ආහාරයක් විදිහට හදාගන්න පුළුවන් සුලභ කොළ වර්ගයක්. පරිප්පු ටිකක්, පොල් කිරි ටිකක් දාල ව්‍යංජනයක් විදිහටත්, අමු මිරිස්, පොල්, ළූණු, දෙහි ඇඹුල්... ආදිය දාල සලාදයක් හෝ මැල්ලුමක් විදිහටත් ආහාරයට ගන්න පුළුවන්. මේ මගින් ශරීරයේ අධි රුධිර පීඩනය අඩු කරනවා. මධුමේහ සමනය කරන ගුණයක් තියෙනවා. ඒ නිසා හුඟක් අඩු රුධිර පීඩනය සහ අඩු සීනි තියෙන අය ආහාරයට ගැනීම සුදුසු නෑ. මොකද රුධිරයේ සීනි අඩු වීමෙන් සහ රුධිර පීඩනය අඩු වීමෙන් අතුරු ආබාධ ඇතිවෙන්න පුළුවන්. හැබැයි එහෙම වෙන්නෙ තෙබු කොළ තනියෙන් ආහාරයට ගත්තොත් විතරයි. ඒ නිසා ඒ වගේ අයට වෙනත් කොළ වර්ග සමග මිශ්‍ර කරල ආහාරයට ගැනීමෙන් ඒ තත්ත්වය වැළකෙනවා.

වැල් පෙනෙල කියන්නෙ බොහොම පහසුවෙන් හොයාගන්න පුළුවන්, පැළ කරගන්න පුළුවන් ශාකයක්. කොළ කැඳට අමතරව මැල්ලුමක්, සම්බෝලයක්, බැදුමක් විදිහටත් ආහාරයට ගන්න පුළුවන්. ඖෂධීය ගුණ විදිහට, මුත්‍රා රෝග සමනය කරනවා, ශරීර අභ්‍යන්තරය සිසිල් කරන නිසා උෂ්ණාධික රෝගවලට ගුණදායකයි. කාන්තාවන්ගේ ඇඟ උණුකර යාමේ රෝගය සඳහාත් ඖෂධයක්. අම්ලපිත්ත ප්‍රදාහය තියෙන අයට ඇතිවෙන විස වමනය කරවීම සඳහා වැල් පෙනෙල කොළ ඉස්ම උදේ හිස්බඩ පානය කිරීම සුදුසුයි. නියපොතු ආශ්‍රිත රෝග සඳහාත් වැල් පෙනෙල කොළ කොටල එන ඉස්ම අමු කහ සමග මිශ්‍ර කරල ගැල්වීම සුදුසුයි. පණු රෝග, ආම වාත, අර්ශස් ඇතුළු තවත් රෝග රැසක් සඳහාත් ගුණදායකයි.

කිරිඅඟුණ වැල් කියන්නෙ ඉස්සර අපේ ගෙවල්වල වැටවල්වලට හිටවපු ඖෂධීය ශාකයක්. දැන් ඉතින් වැටවල් වෙනුවට කොන්ක්‍රීට්වලින් පිරිච්ච තාප්ප සංස්කෘතියක් බිහි වෙලා තියෙන නිසා අද ඒ වගේ අවස්ථා දකින්නත් නැති තරම්. නමුත් කිරිඅගුන කියන්නෙ පෝච්චියක හිටවල වහළට, තාප්පයකට වුනත් යවන්න පුළුවන් ශාකයක්. කිරිඅගුන කොළ පොල්, රතු ළූණු, දෙහි... ආදිය මිශ්‍ර කරල රසවත් සම්බෝලයක් විදිහටත්, මැල්ලුමක් විදිහටත් ආහාරයට ගන්න පුළුවන්. යකඩ ඉහල ප්‍රතිශතයකින් අඩංගු නිසා ශරීරයේ රුධිරය අඩු අයට ඉතා ගුණදායකයි. ඩෙංගු වගේ වසංගත රෝග අවස්ථාවලදි රතු රුධිරාණු අඩු වෙන නිසා කිරිඅඟුණ කොළ සලාදයක් හෝ මැල්ලුමක් විදිහට දීමෙන් රුධිරාණු වැඩි වෙනවා. කිරි අඩු මව්වරුන්ට කිරි වැඩියෙන් එරෙන්න උපකාරී වෙන නිසා ගැබිණි මව්වරුන්ටත්, කිරි දෙන මව්වරුන්ටත් ඉතා යෝග්‍යයි. ඒ වගේම මලබද්ධයටත්, බඩේ අජීර්ණ ඇතුළු පණු අමාරුවලටත් ඉතා ගුණයි.

තෝර කොළ ගත්තම පැණි තෝර, පෙති තෝර, ඇත් තෝර කියල වර්ග කිහිපයක් තියෙනවා. පැණි

තෝර සහ පෙති තෝර කොළ සාමාන්‍ය මැල්ලුමක් විදිහටත් පරිප්පු හෝ උඩල, බූත්සරණ, ගහල, ඉන්නල, හුළංකීරිය අල, කටු අල, ඉඟි අල, බතල... ආදී දේශීය අල සමග ව්‍යංජනයක් විදිහටත්, කොස් ඇට මැල්ලුමටත් ඉතා හොඳයි. වර්තමානයේ වෙළඳපොලේ තියෙන අර්තාපල් අලවල (කාබනිකව සකස් කළ ඒවා හැර) බොහෝ කොටම විස රසායන අඩංගු නිසයි දේශීය අල වර්ග යොදාගන්න කිව්වෙ.

මේ තෝර කොළ ශරීරයේ වාත රෝග සඳහා ඉතා ගුණදායකයි. අම්ල පිත්ත ප්‍රදාහය නිසා එන බඩ පුරවා දැමීමටත් ඉතා ප්‍රත්‍යක්ෂ ඔසුවක්. පිටි සහිත ආහාර වැඩිපුර ගැනීමෙන් හට ගන්නා බඩ පුරවා දැමීමත් දුරු වෙනවා. මලබද්ධයටත් ප්‍රත්‍යක්ෂයි. ශරීරය සිසිල් කරනවා. පෝෂණයෙන් ඉහළ නිසා ශරීරයේ ලේ වඩවනවා. අනවශ්‍ය මේදය දහනය කරල අධික තරබාරු බව දුරු කරනවා. පොදුවේ ගත්තම හෘද රෝග, දියවැඩියාව, රුධිරය ආශ්‍රිත රෝග, පෙණහළු රෝග, ආහාර මාර්ගය ආශ්‍රිත රෝග... ආදී රෝග රැසකටම ගුණදායකයි.

වාතහංග කියන්නෙ අතු විහිදෙන්නෙ නැතිව උසට හැදෙන ගහක්. මැල්ලුමක් හෝ සම්බෝලයක් විදිහට හෝ ආහාරයට ගන්න පුළුවන් කොළ වර්ගයක්. වා පිත් සෙම් දොස් සමනයට, බඩ පුරවා දැමීමට, මාංශ පේශි තුළ ඇතිවෙන වේදනා... ආදියට ප්‍රත්‍යක්ෂ ඔසුවක්. නමින්ම කියවෙන විදිහට වාතය හංග කරනවා. ඒ වගේම මලබද්ධය දුරු කරනවා. වයසට යනකොට ශරීරයේ ඇතිවෙන දුබල බව නැති කරනවා.

මැල්ල කොළ අමුවෙන් පොඩි කළාම සැර පැඟිරි සුවඳක් වහනය වෙන නිසා සමහරු මේකට මූත්‍රා ගඳත් සමාන කරනවා. ඒ නිසා මැල්ල කොළ ව්‍යංජනයක් විදිහට පිළියෙල කරනකොට, පොඩි කරන්නෙ නැතිව හීන් වෙන්න කපාගෙන සම්බෝලයක් විදිහටත්, අව්වෙ තියල මඳක් ඇල් මැරුනට පස්සෙ රාත්‍රී කාලයේ ජලයේ පොඟවල තියල බැදගෙන බැදුමක් විදිහටත් ආහාරයට ගන්න පුළුවන්. මූත්‍රා රෝග සඳහා ප්‍රත්‍යක්ෂයි. තුන් දොස් සමනයට, බඩ කොර වීම, යටි බඩ වේදනා... ආදිය දුරු කරල බහිස්‍රාවී පද්ධතිය සක්‍රිය කිරීමට ඍජුව දායක වෙනවා. මූත්‍රාශය තුළ හා වකුගඩුවල කැල්සියම් තැන්පත් වීම වළක්වනවා.

වල් කොත්තමල්ලි කොළ තම්බල තේ වෙනුවට භාවිතා කරන්න පුළුවන්. කැඳක් විදිහට හදාගන්නත් පුළුවන්. සාමාන්‍ය මැල්ලුමක් විදිහටත් රසවත් ආහාරයක්. දියවැඩියාවට, අධි රුධිර පීඩනයට, වයසට යනකොට ශරීරයේ සමබරතාවය නැති වී යාමේ ස්වභාවයට ඉතා යෝග්‍යයි. ආහාර මාර්ගයේ තියෙන අංගුලිකා ඉතා ඉක්මණින් ප්‍රකෘතිමත් කරනවා. ශරීර අභ්‍යන්තර ඉන්ද්‍රියන්ගේ බැඳිල තියෙන කාරම් ස්වභාවය ගලවල ඉවත් කිරීමේ හැකියාව තියෙනවා. මනස සැහැල්ලු බවට පත් කරන, මොළයේ රසායන ක්‍රියාකාරීත්වය සමනය කරන ගුණයෙන් යුක්තයි. ඒ වගේම පිළිකා නාසකයි. උණ නිසා එන වේදනා නැසීමේ ගුණයෙන් යුක්තයි.

කරකොළ සාමාන්‍ය සලාදයක් හෝ මැල්ලුමක් විදිහට හෝ හදාගන්න පුළුවන්. ඒ වගේම අව්වෙ තියල ඇල් මැරුනට පස්සෙ ලුණු දියේ ඔබල ගැඹුරු තෙලේ බැදගත්තම රසවත් බැදුමක්. චර්ම රෝග, විසප්පු ගෙඩි, ගෙඩි පිළිකා, ගල් පීනස... ආදී රෝගවලට ගුණදායකයි.

තුඹ දළු තද කහට ස්වභාවයෙන් යුක්ත නිසා, තම්බල දිය ගතිය ඉවත් කරල සම්බෝලයක් විදිහටත්, ව්‍යංජනයක් විදිහටත් ආහාරයට ගන්න පුළුවන්. බඩේ අමාරු, පණු රෝග සඳහා ප්‍රත්‍යක්ෂ ඔසුවක්. යටි පතුල්වල හට ගන්නා දිය මැටියන් කෑම කියන රෝගී තත්ත්වයට තුඹ ගස සහමුලින්ම අරගෙන අඹරල එළඟිතෙල්වලින් කකාරවල තලපයක් විදිහට ගැල්වීමෙන් සුව වෙනවා. ඇඟිලිකරු කුණු වෙලා තියෙන අවස්ථාවල තුඹ ගස සහමුලින්ම කොටල එන ඉස්මට අමු කහ, සහිඳ ලුණු, පොල්තෙල් දමා කකාරවල ගැල්වීමෙන් වහා සුව වෙනවා.

රණවරා කොළ සාමාන්‍ය මැල්ලුමක් විදිහට, කොළ කැඳක් විදිහට හෝ සම්බෝලයක් විදිහට හෝ ආහාරයට ගන්න පුළුවන්. ඒ වගේම වියළි ඇට බැදල තේ, කෝපි වගේ පානය කරන්න ගන්නත් පුළුවන්. තුන් දොස් සමනය කරනවා. මලබද්ධය දුරු කරනවා. පණු රෝග සමනයට, ඇස් රෝග, කුෂ්ට රෝග සමනයට, බඩේ ආම්ලිකතාවය පාලනයට, ශරීරය සිසිල් කිරීමට සහ රක්තානු රෝග සමනයට දායක වෙනවා.

රතු තම්පලා කියන්නෙ ගමේ ගොඩේ පහසුවෙන් වැවෙන, ඉතා රසවත් ගුණවත් පළා වර්ගයක්. කොස් ඇට, පරිප්පු හෝ දේශීය අල වර්ගයක් සමග ව්‍යංජනයක් විදිහටත්, සාමාන්‍ය මැල්ලුමක් විදිහටත් හදාගන්න පුළුවන්. ඊට අමතරව කැඳක් විදිහට හදල පානය කරන්නත් පුළුවන්. ඖෂධීය ගුණ විදිහට ඇස් පෙනීම තීව්‍ර කරනවා, ශීර්ෂ රෝග සමනයටත්, විශේෂයෙන් විවිධ රෝග නිසා රතු රුධිරාණු මට්ටම පහළ ගිහින් තියෙන අවස්ථාවල රතු රුධිරාණු වැඩි කරන්නත්, මහ බඩවැලේ බැඳිල තියෙන කාරම් ඉවත් කරන්නත් විශේෂ හැකියාවක් රතු තම්පලාවලට තියෙනවා. උෂ්ණාධික ශරීර වහා සිසිල් කරනවා. ශරීරයේ දරා ගැනීමේ ශක්තිය වැඩි කරනවා. බහිස්‍රාවී පද්ධතිය සක්‍රිය කරල මලබද්ධය දුරු කරනවා.

හුළංකීරිය කියන්නෙ වැටිච්ච තැන බොහොම පහසුවෙන් හැදෙන අල වර්ගයක්. අරලුප් පිටි කියල හෙළ වෙදකමේ භාවිතා කරන්නෙත් මේ හුළංකීරිය අලවලින් ගන්න පිටි. ඒ පිටිවලින් කැඳ හදාගන්නත් පුළුවන්. ඒ වගේම රොටි, දෝසි... ආදිය හදන්නත් පුළුවන්. ආහාරයක් වශයෙන් අල තම්බල පොල් සමග ප්‍රධාන ආහාර වේලකට එක් කරගන්න පුළුවන්. නමුත් රාත්‍රියට සුදුසු නෑ. මොකද අධික සීතල නිසා. ඊට අමතරව ව්‍යංජනයක් විදිහටත් ආහාරයට ගන්න පුළුවන්. ඉතා සීතල ගුණයෙන් යුක්ත හුළංකීරිය අල ස්වභාවයෙන් සෙම් රෝග තියෙන අයට ඒ තරම් සුදුසු නෑ. ඖෂධීය ශක්තිය ගත්තම, ශරීරයේ සියලු දේ ලිහිල් කරනවා. ඒ නිසා ගැබිණි මව්වරුන්ටත් සුදුසුයි. රක්තය කියන රෝගී තත්ත්වය තියෙන අයට, යටිපතුල් පුපුරන, යටිපතුල් හම යන, තදින් මලබද්ධය සහ මූත්‍රා දැවිල්ල තියෙන, ශරීර දාහය, අර්ශස් අමාරුව, අම්ල පිත්ත ප්‍රදාහය තියෙන අයට ඉතා ගුණදායකයි. පිළිකා නාශක ගුණයෙන් යුක්තයි. ඒ වගේම හුළංකීරිය කොළවල ඉතා ළපටි දළු කඩල කෙහෙල් කොළයක හෝ හුළංකීරිය කොළයක හෝ ඔතල උණු අළු පල්ලෙ තියල, අම් රස ඉවත් වුනාම මැල්ලුමක්, සම්බෝලයක් විදිහටත් හදාගන්න පුළුවන්.

අවුරුද්දට වාර දෙකක් පමණක් හැදෙන කැබැල්ල දළු තරමක් උෂ්ණාධික වුනත් මහා ඖෂධයක්. ඩෙංගු රෝගයෙදි රතු රුධිරාණු අඩු වීම පාලනය කිරීමේ විශේෂ ගුණයක් කැබැල්ල දළුවල තියෙනවා. ශරීරයේ මාංශ පේශි ශක්තිමත් කරනවා. ආමාශයේ කාරම් බැඳිල අජීර්ණ වෙලා ආහාර ගැනීමේ රුචිකත්වය අඩු වෙනකොට,

කැබැල්ල දළු ආහාරයට එකතු කර ගැනීමෙන් ඒ තත්ත්වය මගහරවා ගන්න පුළුවන්. ඒ වගේම අස්ථි, ඇට මිදුළු හොඳින් ක්‍රියාකරවනවා. ප්‍රතිශක්තිකරණ පද්ධතිය සක්‍රිය කරනවා. රුධිරයේ තියෙන අධික මේදය අඩු කරනවා. තද කහ පාටින් යුක්ත නිසා තම්බල දිය ඇරල ව්‍යංජනයක් විදිහට හෝ මැල්ලුමක් විදිහට හෝ හදාගන්න පුළුවන්. ඉඳිආප්ප සඳහා විශේෂ ව්‍යංජනයක් විදිහට අදටත් ගමේ ගොඩේ ගෙවල්වල භාවිතා කරනවා.

කැබැල්ල දළු හෝදල, ලුණු පොඩ්ඩක් සමග ලිපෙන් බාගත් උණු වතුරෙ දාල විනාඩි 5 ක් විතර වහල තියන්න. ඉන්පසු හොඳින් මිරිකගෙන හීනියට කපාගන්න. රම්පෙ, කරපිංච, සුදු ළූණු, ගම්මිරිස්... ආදී තුනපහ, පිරිසිදු පොල් තෙල් ටිකක් සමග ලිපේ තියල තෙම්පරාදු කරගෙන, ඒකට හීනියට කපාගත්තු කැබැල්ල දළු ටික එකතු කරල මලව ගන්න. අවශ්‍ය ප්‍රමාණයට මිටි කිරි දාල හොද්ද වගේ හදාගන්න.

__අළු කෙසෙල්__ කියන්නෙ ගුණ අටෙන්ම යුත් ඖෂධීය ආහාරයක්. (රජ, බිසව, පුරෝහිත, මහ ඇමති, සෙන්පති, ඔත්තුකරුවො, සොල්දාදුවො, කසළ සෝධකයො කියන අට දෙනාගේ ගුණයෙන් යුත්. වැඩි විස්තර සඳහා හෙළ බොදු පියුම 24 කලාපය බලන්න.) සියළුම පද්ධතිවල තියෙන විස ක්ෂණිකව ඉවත් කිරීමේ ශක්තියක් අළු කෙසෙල්වල තියෙනවා. ආගන්තුකව ශරීරයට යම් විසක් ඇතුල් වෙලා තියේ නම්, ඒ විස පමණක් බැහැර කිරීමේ විශේෂ ශක්තියක් තියෙනවා. සර්පයෙක් දෂ්ඨ කළාම ළඟපාත රෝහලක් නැත්නම්, අළු කෙසෙල් බඩයක් කොටල ඉස්ම පත එකක් බොන්න දීමෙන් සර්ප විස ශරීරය තුල ගමන් කිරීම නවතිනවා. ඒ වගේම තුන් දොස් සමනයට, මලබද්ධයට, අම්ල පිත්ත ප්‍රදාහයට, අක්‍රිය වූ අග්න්‍යාශය ප්‍රකෘති කිරීමට, අංශභාග රෝග අවස්ථාවලදී ස්නායු ප්‍රකෘතිමත් කිරීමට මහා ගුණ දෙන ඖෂධයක්. කාම දාහය අඩු කිරීමේ ගුණයෙන් යුක්තයි. අළු කෙසෙල් මුව, අමු ගෙඩි, බොඩය (බඩ), අල කියන කොටස් ව්‍යංජන විදිහටත්, ඉදුනු පසු පළතුරක් විදිහටත්, කෙසෙල් ලෙලි මැල්ලුමක් විදිහටත් සාමාන්‍ය ව්‍යංජන උයන ආකාරයට හදාගන්න පුළුවන්. විශේෂයෙන් අළු කෙසෙල් අල හදවතට ඉතා ගුණදායකයි. හදවතේ ක්‍රියාකාරීත්වය වැඩි කරනවා. අළු කෙසෙල් අල සම්පූර්ණයෙන්ම පිට පොත්ත හොඳට රැහැල සුද්ධ කරගෙන, හීන් වෙන්න පෙතිවලට කපාගෙන හෝ අඹරගෙන හෝ සාමාන්‍යයෙන් කොහිල අල හදන විදිහටම ව්‍යංජනයක්, මැල්ලුමක් විදිහටත් හදාගන්න පුළුවන්.

__කොක්මොට__ කියන්නෙ සාමාන්‍ය ආකාරයට කැඳක් විදිහටත්, මැල්ලුමක් විදිහටත්, බැදුමක් විදිහටත් හදාගන්න පුළුවන් රසවත් ඖෂධීය ආහාරයක්. හිස කෙස් ගැලවී යාම පාලනය කිරීම, ස්නායු පද්ධතිය සක්‍රිය කිරීම, රුධිර නාලවල ඇති අවහිරතා දුරු කිරීම, මුහුණේ කුරුලෑ ඇති වීම වැළැක්වීම, හිස් කබල තුල ඇති කුඩා සිදුරු තුල සෙම ගල්වෙලා ඇතිවන ගල් පීනස තත්ත්වය මග හරවා හිසරදය සුව කිරීම, ශරීරයට අනවශ්‍ය, ශරීරයෙන් පිටතට එන ගෙඩි සුව කිරීම සඳහා ප්‍රබල ශක්තියක් කොක්මොටවල තියෙනවා.

__කීකිරිඳිය__ සම්පූර්ණ ගහම සාමාන්‍ය කැඳක් වශයෙනුත්, මල් නැති ළපටි දළු සාමාන්‍ය මැල්ලුමක් හෝ සම්බෝලයක් විදිහටත් හදාගන්න පුළුවන්. හිසේ තියෙන සියළු රෝගවලට මාහැඟි ඖෂධයක්. ඇසේ සුද, ඇස් පෙනීමේ දුර්වලතා, කන්වල ශ්‍රවණ දුර්වලතා, ඉරුවාරදය, නිතර ඇතිවෙන නහය බර ගතිය සඳහාත් කීකිරිඳිය මහා ඖෂධයක්. ශීර්ෂ රෝග නිවාරණ තෛලයේ ප්‍රධාන සංඝටකයක් තමයි කීකිරිඳිය. ශරීර අභ්‍යන්තරයේ තදවෙලා තියෙන ස්නායු ලිහිල් කරල, දත්ත සම්ප්‍රේෂණය උපරිම මට්ටමට ගෙනියන්න කීකිරිඳිය උපකාරි වෙනවා. සන්සුන් මනසක් ඇති කරනවා. ශරීරය සිසිල් කරනවා. හන්දිපත්, මාංශ පේශි ලිහිල් කරනවා. අකලට හිසකෙස් පැසීම අඩු කරනවා.

__දිය වැටකොළු__ හෙවත් නියං වැටකොළු, කොහු වැටකොළු... යනාදී නම්වලින් හඳුන්වන්නෙ එකම වර්ගයක්. සාමාන්‍ය වැටකොළු මාළුවක් හදාගන්න ක්‍රමයටම හදාගන්න පුළුවන්. මෝරපු ගෙඩි තිත්ත නිසා ළපටි ගෙඩි ආහාරයට ගත යුතුයි. මෝරපු ගෙඩියේ මදය ඉවත් කරල ඉතිරිවන කොස්සෙ ඇඟ අතුල්ලන්නත්, විවිධ අත්කම් නිර්මාණ සඳහාත් භාවිතා කරනවා. මුත්‍රාශය හා සම්බන්ධ රෝගාබාධ විදිහට එන මුත්‍රා ගල්, මුත්‍රා දැවිල්ල, බඩ කොරවීම, කකුල්වල වේදනා, කකුල් ඉදිමීම, නිතර ඇතිවෙන යටිබඩ වේදනා... යනාදී රෝගවලටත් ප්‍රත්‍යක්ෂ ඔසුවක්. ඒ වගේම ලේ නහරවල ලේ කැටි ගැසීම වැළැක්වීමේ විශේෂ හැකියාවක් තියෙනවා. ඒ නිසා ආඝාතය වගේ රෝග ඇතිවීම වැළැක්වීමේ හැකියාවත් තියෙනවා. තුනටියෙන් පහළ නහරගත රෝග සුව කරන්නත් දියවැටකොළු යොදා ගන්නවා.

__වැල් තිබ්බටු__ සාමාන්‍ය තිබ්බටුවලට සමාන නමුත් ඊට වඩා ඉහළ ඖෂධීය ගුණයෙන් යුක්තයි. පපුවේ, පෙණහළුවල තියෙන සෙම ඉවත් කිරීමේ විශේෂ හැකියාවක් තියෙනවා. ඒ වගේම තැලීම් නිසා හන්දිපත්වල රැඳිච්ච අපද්‍රව්‍ය ඉවත් කරන්නත්, හන්දි ඉදිමුම් රෝගවලදී ප්‍රතිකර්ම සඳහාත් භාවිතා කරනවා. උගුරේ බැරැන්ඩි ගතිය, දිගට පවතින කැස්ස, පපුවේ මහන්සිය... ආදී රෝග සමනය කිරීමේ විශේෂ හැකියාවක් තියෙනවා. ඒ වගේම මුහුණේ, බෙල්ලේ ඇතිවෙන කළු ලපවලට වැල් තිබ්බටු ගෙඩියක් පොඩි කරල ඉස්ම ගල්වල පැයක් පමණ තියල සෝදා හැරීමෙන් ඒවා ඉවත් කරගන්න පුළුවන්. ඇට තරමක් තිත්ත නිසා මේ තිබ්බටු ගෙඩි ගලේ තලල අවශ්‍ය නම් ඇට ඉවත් කරල, අමු මිරිස්, සුදු ළූණු, පොල්, රම්පෙ, කරපිංච, ගම්මිරිස්, අබ.. ආදිය තෙලට දමල රන්වන් පාටට බැදුනට පසු, ඒ මිශ්‍රණයට තිබ්බටු ටික දාල කලවම් කිරීමෙන් ඉතා රසවත් මැල්ලුමක් විදිහටත්, කොස් ඇට සමග එකතු කරල ව්‍යංජනයක් විදිහටත් ආහාරයට ගන්න පුළුවන්.

__හීන් උඳුපියලි__ කියන්නෙ ඕනෑම මිදුලක ඉතා පහසුවෙන් වගා කරගන්න පුළුවන් ඖෂධීය පැළෑටියක්. ගහ සහමුලින්ම අරගෙන කැඳක් විදිහට හදාගන්නත් පුළුවන්. එහෙම නැත්නම් කොළ මැල්ලුමක් හෝ ව්‍යංජනයක් විදිහටත් ආහාරයට ගන්න පුළුවන්. ස්නායු පද්ධතිය ප්‍රකෘතිමත් කිරීමේ, ශරීරගත විස ඉවත් කරල සියළු ඉන්ද්‍රියන් සක්‍රිය කිරීමේ විශේෂ හැකියාවක් හීන් උඳුපියලිවලට තියෙනවා. හෙළ වෙදකමේදී ස්නායු පද්ධතිය උඳුපියලි පඳුරකට උපමා කරනවා. අතපය හිරිවැටීම, වයසට යනකොට ශරීරයේ සියළු ඉන්ද්‍රිය පද්ධතිවල ඇතිවෙන අකර්මන්‍යතාවය මගහරව ගන්න ප්‍රධාන වශයෙන් උපකාරී වෙනවා. ඒ වගේම ඇස් පෙනීම වර්ධනය කරනවා. පිළිකා නාශක, වේදනා නාශක ගුණයෙන් යුක්තයි.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**






# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි වතක සිටියදී ලෝක සත්ත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් සිදු කළ තවත් සද් කටයුත්තක් විදිහට සමාධිමය බෙහෙත් ප්‍රතිකාර ක්‍රමය හඳුන්වා දෙන්න පුළුවන්. සසර පැතුමක් අනුව ලැබුනු ඒ හැකියාවෙන් මතු කළ තවත් ප්‍රත්‍යක්ෂ සමාධිමය අත් බෙහෙත් කිහිපයක් පින්වත් ඔබගේ ප්‍රයෝජනය පිණිස මෙවරත් සටහන් කරනවා. මීට පෙරත් සඳහන් කළා වගේ මේ සියළු ඖෂධ ප්‍රතිකාර ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තියට යටත්ව ප්‍රත්‍ය වන බවත් සළකන්න.

## 1. අම්ල පිත්ත ප්‍රදාහය (ගැස්ට්‍රයිටිස්) සඳහා

මේ රෝගී තත්ත්වය නිසා අද වෙනකොට සමාජයේ බොහෝ පිරිසක් පීඩා විඳින බව රහසක් නෙවෙයි. ඒ සඳහා කරන සුලභ ප්‍රතිකර්මත් බොහෝ කොටම තාවකාලිකයි. එහෙම නැත්නම් අතුරු ආබාධ සහිතයි. ඒ වගේ අවස්ථාවක විශේෂ මහන්සියක්, වියදමක්, අතුරු ආබාධයක් නැතිව තමන්ටම සරලව පහසුවෙන් හදාග න්න පුළුවන්, තවත් සමාධිමය ප්‍රත්‍යක්ෂ ඖෂධ ප්‍රතිකාර දෙකක් තමයි මේ.

(අ) කෝමාරිකා පිත්තක් අරගෙන දෙකට පලාගන්න. පිත්තේ දෙපස තියෙන කහ පාටට හුරු කිරි ටික ඉවත් කරන්න. හොඳින් සෝදා ගත් මුං ඇට අහුරක් අරගෙන කෝමාරිකා පිත්තේ මැද තියෙන ලොඳය තුලට ඇතුල් කරල පළු දෙක නැවතත් වහල කෙහෙල් පට්ටයකින් හෝ සුදුසු දෙයකින් ඔතා ගන්න. (මුංඇට අහුර ඇතුල් කරන්න ප්‍රමාණවත් ගානට කෝමාරිකා පිති කිහිපයක් ගන්න.) හවස 6.00 ට ගහක් උඩ හෝ එළිමහනෙ පින්නෙ තියල උදේ 6.00 ට නැවතත් අරගෙන පිට පොත්ත හැර ඇතුලෙ තියෙන ලොඳය සමග මුං ඇට මිශ්‍රණය හූරගෙන මිශ්‍රණ යන්ත්‍රයකින් කොටා ගන්න. සාමාන්‍ය කැඳක් හදාගන්න විදිහට අනෙකුත් අමුද්‍රව්‍ය අරගෙන මේ කෝමාරිකා මිශ්‍රණය මිටි කිරිත් එක්ක එකතු කරල කැඳ හදාගන්න. සතියකට දවස් 3 ක් විතර දවසක් හැර දවසක් උදේ හිස්බඩ පානය කරන්න. අම්ල පිත්ත ප්‍රදාහය නිසා එන විස ශරීරයෙන් ඉවත් කරල ඒ නිසා එන තුවාලත් සුව කරනවා.

(ආ) කැහිපිත්තන් කොළ මිටක් කොටාගෙන මිරිකගෙන ඉස්ම ටික ගන්න. කෝමාරිකා පිත්තක් අරගෙන පිට ලෙල්ල සම්පූර්ණයෙන්ම ඉවත් කරල, ඒකෙ ලොඳය විතරක් හූරගෙන කැහිපිත්තන් කොළ ඉස්ම සමග වතුර පත දෙකක් (අඩු කෝප්ප එකහමාරක්) එකතු කරල මිශ්‍රණ යන්ත්‍රයකින් හොඳින් මිශ්‍ර කරගන්න. සීතල ගතිය යන්න යන්තම් රත් කරගන්න, නැත්නම් උණු වතුර භාජනයක කෙටි වෙලාවක් තියන්න. ලුණු බිංදු 2 ක් දමා හිස්බඩ පානය කරන්න. අවශ්‍ය දින ගණනක් දිනපතා පාවිච්චි කළත් ගැටළුවක් නෑ.

අම්ල පිත්ත ප්‍රදාහය වැඩි වෙලා බඩවැලේ පටන් උගුර දක්වා හටගෙන තියෙන තුවාල තියේනම්, මේ බේත ප්ලාස්ටරයක් වගේ ක්‍රියා කරල ඒ තුවාල සනීප කරල නැවත හට ගැනීම වළක්වනවා. තුවාල හුඟක් ඔඩු දුවල නම් දවසකට තුන් වතාවක් ගන්න. සාමාන්‍යයෙන් අපේ අතක් පයක් කැපිල තුවාල වුනාම, අපි ඕකට ගමේ ගොඩේ නම් කෝපි දල්ලක්, තේ දල්ලක් වගේ මොනව හරි කහට තියෙන කොළ ජාතියක් හපල තුවාලයට තියන එක තමයි කරන්නෙ. එතකොට ඒ කහට කබොල්ලක් විදිහට බැඳිල ඒ ස්ථානය ආරක්ෂා කරනවා. අන්න ඒ වගේ දෙයක් මෙතනදිත් සිද්ධ වෙනවා. එතකොට මේ ඖෂධය කබොල්ලක් / ප්ලාස්ටරයක් විදිහට ක්‍රියා කරල අම්ල පිත්ත ප්‍රදාහය නිසා එන දැවිල්ලත් සමනය කරනවා.

## 2. මීයෙක් සපා කෑ විට

අ) එළ කටරොඩු කොළ සමග වේළුණු බළල් බෙටි කුඩා කැබැල්ලක් එකට අඹරගෙන මීයා සපා කෑ ස්ථානයට තියල හැන්දෑ වරුවේ

වෙළන්න. උදේට ගලවන්න. මේ විදිහට අළුතින් අමුද්‍රව්‍ය අරගෙන දින 9 ක් කරන්න. ඉන්පසු තවදුරටත් විස තියෙන බව දැනගත්තොත් හෝ ඒ බවට සැකයක් තියේනම් පහත දෙවන ප්‍රතිකාරය කරන්න.

ආ) පරණ කොහොල්ලා ටිකක් තල තෙල්වලින් රත් කරල පාන්කඩයක ගා සපා කෑ තැන හවස් වරුවේ වෙළන්න. උදේට ගලවල ඉවත් කරන්න. මේ විදිහට අළුතින් අමුද්‍රව්‍ය අරගෙන දින 10 ක් කරන්න.

## 3. අජීර්ණ දෝස සඳහා

අ) දර පෝරණු පාන් ලෙලි කබලේ කළුවෙන්න බැදගෙන කුඩු කරල තියාගෙන මේස හැඳි 1 බැගින් උතුරන වතුරට දමා තැම්බෙන්න හැර හකුරු සමග උදේට, දවල්ට, රාත්‍රියට ආහාරයට පෙර පානය කරන්න. දින 12 යි. (වැඩි විස්තර සඳහා පාන් ලෙල්ලෙන් හදා ගන්නා බේත ගැන කියවෙන 41 සඟරා කලාපය බලන්න.)

මේ අතර

බෙලි මුල්, සුදු එෑණු, කරපිංච නැටි, සියඹලා නැටි, තිප්පිලි, අසමෝදගම්, බේත් එඬරු මුල්, වසාවාසි, බිම් පොල් ගස්, හීන් නිදිකුම්බා, හීන් උඳුපියලි, හාතවාරිය අල... මේවා කලං 1 බැගින් අරගෙන වතුර පත අට එකට හිඳගෙන උදේ, හවස අනුපානයට (දුඹුරු) සීනි සහ සහිඳ ලුණු දමා පානය කරන්න. වඩි 7 යි. දින 7 යි.

ආ) හුලං විස්කෝතු කුඩු කරගෙන කබලේ කළුවෙන්න බැදගෙන උදේ, හවස මේස හැන්දක් නටන උණු වතුරට දමා වසා තබා තැම්බුනාට පසු කිතුල් හකුරු සමග පානය කරන්න. දින 18 යි.

## 4. තදබල සෙම් අමාරු සඳහා කැඳක්

මේ සඳහා යොදා ගන්නා අමුද්‍රව්‍යය තමයි යකිනාරං කොළ. හැබැයි යකිනාරං කොළ විතරක් ගත්තොත් පැඟිරි රසක් එන නිසා පොල් කිරිත් එක්ක හදාගන්න ක්‍රමයක් තියෙනවා. ඉස්සෙල්ලම කැඳට අවශ්‍ය ප්‍රමාණයට හාල් ටිකක් ලිපේ තියන්න. පොල් කිරි ටික මිරිකල වෙනම පැත්තකින් තියල, ඉතිරි පොල් කුඩු සමග යකිනාරං කොළ ටික එකට කොටා මිරිකගෙන එන ඉස්ම වෙනම ගන්න. හාල් ටික රත්වෙනකොට යකිනාරං කොළ ඉස්ම මිශ්‍රණය එකතු කරල, පැහෙනකොට පොල් කිරි ටිකත් එකතු කරල සුළු වේලාවකින් බුබුළු දානවත් එක්කම බාගන්න. මේ විදිහට හදාගත්ත කැඳ උදේ හිස්බඩ පානය කරන්න. ශරීරයේ රැඳිල බැඳිල තියෙන සෙම මළ ද්‍රව්‍ය හරහා ඉවත් වෙනවා.

## 5. ආමියා දෝස සඳහා

යම් කිසි කෙනෙක් ආසා කරන ආහාරයක් තවත් කෙනෙක් විසින් ඒ කෙනාට නොදී බලාගෙන ඉදෙත්දිම අනුභව කළාම ආමියා කියන දෝසය එන්න පුළුවන්. ඒකෙ ප්‍රතිඵලයක් විදිහට කෑම අරුචිය, බඩ පුරවා දැමීම... ආදී රෝග ලක්ෂණ එන්න පුළුවන්. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් සමාධියෙන් මතු කර නොගත්තත්, ඒ සඳහා උන්වහන්සේත් අනුමත කරපු, අනාදිමත් කාලයක පටන් පැවතෙන ප්‍රතිකාරයක් තමයි මේ.

දෙහි ගෙඩියක් අරගෙන පෙතිවලට වෙන් වෙන්න කපාගෙන බුලත් කොළයක් උඩ තියල නව අරහාදී බුදු ගුණවලින් 108 වාරයක් ජීවම් කරන්න. ඉන්පසු රේණු, ඇට, ලෙලි, පැඟිරි... ආදී සියල්ලම සහිතව ඒ දෙහි පෙති ටික වතුර නොදමා මිරිකගෙන පානය කරන්න.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

